# හැඳින්වීම

බුදු පියාණන් වහන්සේ පරම පවිත්‍ර ශ්‍රී සද්ධර්මය දේශනාකර වදාළේ සදාකාලිකව සැප සම්පත් විඳින දෙවියන් බ්‍රහ්මයන් සමූහයක් බිහිකරන්නට හෝ ධනවත්, බලවත්, නැණවත් මිනිසුන් සහිත ලෝකයක් ඇති කරන්නට හෝ නොවේ. දුක් විඳින දිළින්දන්ට සැප සම්පත් ලබාගන්නට මග පෙන්වා ඔවුන් සනසාලන්නටද නොවේ. මේ උතුම් ධර්මය එවන් මතු ලබන සම්පත් ගැන බලාපොරොත්තු ඇති කරවා රාගයෙන් මොහයෙන් මිනිසුන් මුලා කරවන්නට දේශනා කළ එකක් නොව මිනුසත් බවක් ලැබූ මේ ආත්ම භවයේදීම ලබාගත හැකි, ලබාගත යුතු විමුක්තිය නිදහස, නිවන ලබාදීමට මග පෙන්වීම සඳහාම ඉදිරිපත් කළ ධර්මයකි. ලෞකික සැප සම්පත් යනු බිලි කොක්ක ඇමුණු ඇමක්, මිරිඟුවක් මිස නියත වශයෙන් ඇති දෙයක් නොවන බ පෙන්වා දුන් දහමකි.

කර්මවාදය යනු බුදුපියාණන් ඉදිරිපත් කළ දෙයක් නොව මහාවීර නම් ජෛන ආගමික නායකයෙකු ඉදිරිපත් කළ මතයකි. කර්මය යනු උත්තරීතර බලයක් හෝ අනිවාර්යයෙන් ඵල විපාක දෙන නිවන් වසාදමන නියත හේතුවක් හෝ නොවන බවද බුද්ධ දේශනාවයි. හේතු අතහැරීමෙන්, තමාම එකතු කරගත් ලෝභ, ද්වේෂ, මෝහ නම් වූ කෙලෙස් මළ අතහැර, කුණුසලාහැර, ආසව ප්‍රහාණය කරදමා සියලුම කර්මබීජ ප්‍රහාණය කර විමුක්තිය නිවන තමාටම අත්කරගත හැකි බව පෙන්වා දුන් උතුම් නිවන් මාර්ගයයි. වරදක් පාපයක් නොකළ කෙනෙකුට ලොව උපතක් ලැබිය නොහැක. මිනිසෙකු ලෙස උපතලත් හැම කෙනෙකුටම මනසින් කල්පනා කර සියලු වරදින් පාපයෙන් මිදී සියලු අතීත කර්මජ ශක්තින්ගෙන්ද මිදී තමන්ටම නිදහස් විය හැකිය. ජීවත්වීම සාරවත් එකක් සේ දකින තුරාවට ඉන් මිදී නිදහස්විය නොහැකිය. මේ පැවැත්වීමේ ජීවත්වීමේ නිස්සාරත්වය දැකගැනීමෙන්ම, යථා පරිදි අවබෝධ කරගැනීමෙන්ම මේ පැවැත්මෙන් නිදහස්විය හැකි වෙයි.

මිනිසෙකු ලෙස උපතලත් මේ ආත්ම භවයේදීත් පිංකම් පමණක්ම කරමින්, මතු සැපසම්පත් පතමින්, යැදුම් යදිමින් කාලය අපතේ යැවීම තව කල්ප කාලාන්තරයක් සංසාර දුකම උරුමවීමට පමණක් හේතුවෙයි. සියලුම ආගම්වල උත්සාහය හොඳ, නිවැරදි යහපත් මිනිසුන් සමූහයක් සමාජයට බිහි කිරීමයි. අප එය අගය කළ යුතුය. පරම පවිත්‍ර බුද්ධ ධර්මය ලෝකයාට ඉදිරිපත් කළේ අනන්ත දුක්කන්දරාවක් විඳිමින් පරක් තෙරක් නොපෙනෙන සංසාර සාගරයේ අතරමංවී, මංමුලා වී ගමන් කරන පෘථග්ජන ලෝකයාට සදහටම දුකෙන් මිදෙන්නට නිවැරදි මග පෙන්වා දෙනු සඳහාය.

මෙම පොත් මුද්‍රණය කිරීමේදී හා නොමිලේ බෙදා හැරීමේදී අතහිත දුන් හැම කෙනෙකුටමත්, ඉක්මණින් හා පිරිසිදුව මුද්‍රණය කරදුන් මාලබේ ආර්ය මුද්‍රණ ශිල්පියෝහි අධිපතිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලයටත්, මේ උදාර පුණ්‍ය කර්මය නිවන් පිණිසම හේතුවේවා !

**මීවනපලානේ සිරි ධම්මාලංකාර හිමි**

**2013-03-10**

# "සම්බුද්ධත්වයට පත්වීම" යන්නෙහි අර්ථය කුමක්ද ?

බුද්ධ, සම්බුද්ධ, අභිසම්බුද්ධ, සම්මාසම්බුද්ධ යන ගෞරවණීය පද සියල්ලෙහිම එන ''බුද්ධ'' යන පදයේ ධර්ම අර්ථය පළමුකොටම තේරුම් කර ගත යුතුය. තුන්තරා බෝධියකින් එක්තරා බෝධියකට පැමිණ, ''බුද්ධ'' තත්වයට පත් වූ සියලු උතුමන් වහන්සේලා බුදුවරයින් වහන්සේලා ලෙසින් ධර්මයේ හඳුන්වයි. මෙහි දී ලොව්තුරා බුද්ධත්වයට පත්වීම, පච්චේකබුද්ධ තත්වයට පත්වීම සහ අරහත්බුද්ධත්වයට පත්වීම යනුවෙන් තුන්තරා බෝධිය හඳුන්වනු ලබයි. බුද්ධ, සම්බුද්ධ, අභිසම්බුද්ධ, සම්මා සම්බුද්ධ යනාදී වශයෙන් අද භාවිතයේ පවතින පදයන් එක පුද්ගලයෙකුට හෝ එක චරිතයකට හෝ විශේෂණයක් වශයෙන් ආරෝපනය කරමින් වැරදි ආකාරයට භාවිතාකරන්නට පටන් ගත්තේ බෞද්ධ සාහිත්‍යය ලියූ පෘතග්ජන සාහිත්‍යයකරුවන් විසිනි. එමෙන්ම බෞද්ධ ඉතිහාසය ලියූ පෘතග්ජන මිනිසුන් විසිනි. ඒ ඔවුන් බුදුන්වහන්සේ හෝ බුද්ධත්වය හෝ පරමාර්ථ වශයෙන් දැක හඳුනානොගත් හෙයිනි. නිවන් අවබෝධ කරගත්, සසර දුකෙන් සදහටම මිදී නිදහස් වූ සියලුම උත්තමයින් වහන්සේලා බුද්ධත්වයට පත්වූ සේක.

''ලොව්තුරා සම්මා සම්බුද්ධත්වය'' මෙයින් අග්‍ර වනසේක. එයටද හේතුවක් ඇත. ලෝකය බුදුවරයින් වහන්සේලාගෙන් හිස් වූ යුගයක, අවස්ථාවක, ස්වයං භූ ඥාණයෙන්ම, ගුරු උපදේශ රහිතවම, තමාගේම මනසේ ශක්තියම මතුකරමින් සියලු කෙලෙස් මුල් සහමුලින්ම ගලවා උදුරා දමා උතුම් බුද්ධත්වයට පත්වීම වැදගත්ම සිදුවීමයි. මේ සඳහා තවත් බාහිර ගුරුවරයෙකුගේ ගුරු උපදේශයන් නොලබාම රාග බව, ද්වේෂ බව, මෝහ බව සහමුලින්ම උදුරා ගලවා දමා තමන්ගේ සිත කෙලෙස්වලින් නිදහස් කරගන්නටත්, කෙලෙස් උදුරා ගලවා දමා සසර දුකෙන් සදහටම මිදී නිදහස් වන නිවැරදි මාර්ගය අවශේෂ ලෝකයාට ද ප්‍රකාශ කර

කියාදෙන්නටත් හැකි ශක්තියක් සහිත වූ උත්තමයා ලොව්තුරා සම්මා සම්බුද්ධ නමින් හඳුන්වයි.

පච්චේක බුද්ධ හෙවත් පසේ බුද්ධත්වයට පත්වන උත්තමයා ද අනුන්ගේ ගුරු උපදේශයක් නැතිවම ස්වයං භූ ඥාණයෙන්ම රාග බව, ද්වේෂ බව හා මෝහ බව උදුරා ගලවා දමා බුද්ධ තත්ත්වයට පත්වෙයි. නමුත් මෙවන් යුගයක, එනම් අබුද්දෝත්පාද කාලයක ''භව'' උදුරා දමන මෙම ක්‍රමවේදය තවත් කෙනෙකුට ප්‍රකාශ කර පැහැදිලි කර කියාදෙන්නට නොහැකිවීම නිසා තමන් ස්වයං භූ ඥාණයෙන්ම අවබෝධ කරගත් ධර්මය තමාටම පමණක්ම සීමා වීම නිසා පච්ජේකබුද්ධ යනුවෙන් මෙම බුද්ධ බව නම් කළහ.

අරහත් බුද්ධ, තත්ත්වයට පත්වන උතුමන්වහන්සේලා ලොව්තුරා බුදුපියාණන් වහන්සේ විසින් ලෝකයාට දේශණාකර පෙන්වා වදාල මාර්ගයම අසාදැන, ඒ මග අනුගමනය කරමින්, ඒ ගුරු උපදේශවලට අනුකූලවම ක්‍රියාකරමින්, සාස්තෘන්වහන්සේ ගිය මග යමින් ක්‍රියාකර රාග බව, ද්වේෂ බව, මෝහ බව සහමුලින්ම උදුරා ගලවා දැමීම කළ නිසා අරහත් බුද්ධ නමින් හඳුන්වයි.

මෙහිදී තුන්තරා බෝධියටම පොදු ලක්‍ෂණය වන්නේ ''භව'' උදුරා දැමීමයි. එනම් රාග බව, ද්වේෂ බව, මෝහ බව යළි සිතෙහි නොඋපදින ලෙසින්ම රාගක්ඛය කිරීමයි. ද්වේෂක්ඛය කිරීමයි. මෝහක්ඛය කිරීමයි. එනම් මෙතුවක් කාලයක් සසරට බද්ද වන්නට හේතු වූ සසර බැමි තුනම සොයාදැන සහමුලින්ම බැමි කපා දමා බැම්වලින් නිදහස් වීමයි.

මේ අනුව බුද්ධත්වයට පත්වීම යනු සසරට බැඳෙන බානෙන් මිදී නිදහස්වීමයි. එයම ''නිබ්බාන සච්ච කිරියා'' යනුවෙන් ද හැඳින්වීය.

බුද්ධ (භව+උද්ධ ) යන මාගධී පදයෙන් අර්ථ ගැන්වූයේ මේ ජීවිත පැවැත්ම යලි යලිත් මතු මතුවටත් බිහිකරගන්නට හේතුවන ශක්තිය (භව) හෝ (බව) උදුරා ගලවා ඉවත්කර (උද්ධ) ඉන් සදහටම මිදී නිදහස්වීම යන්නයි. බෞද්ධයා යනු බව උදුරා දමන්නට කැපවී ක්‍රියා කරන කෙනෙකු යන අදහසයි. මෙසේ උදුරා, ගලවා ඉවත් කර දැමිය යුතු (භව) වන්නේ රාග බව, ද්වේෂ බව හා මෝහ බව යන තුන් කෙලෙස් භවයි.

චිත්ත සංඨානය තුළ රාග ගති පැවැතීම නිසා රාග බව අලුතින් උපදී. ද්වේෂ ගති පැවැතීම නිසා ද්වේෂ බව අලුතින් උපදී. මෝහ ගති පැවැතීම නිසා මෝහ බව අලුතින් උපදී. රාග අනුසයං අනුසේති, පටිඝඅනුසයං අනුසේති අවිජ්ජා අනුසයං අනුසේති'', යනුවෙන් ඡඡක්ක සූත්‍රයේදී විග්‍රහ කලේ මෙසේ අලුතින් අනුසය උපත ලැබීම (බව) යන්නයි. මෙලෙස රාග බව, ද්වේෂ බව, මෝහ බව අලුතින් උපදවා ගනිමින්, ඒවා සාරයි, වටිනවා යනුවෙන් තීරණය කළේ ඒ පිළිබඳව ඇත්ත ඇති සැටියෙන් නොදැනීම නිසාමය. එසේ ඇත්ත නොදන්නා අවධියකදී මේ ගති හොඳයි. වටිනවා, සාරයි කියා නිච්චසේ, සුඛ සේ සුව සේ සුබ සේ දැක අත්ත සේ ගැනීම කළත් දැන් මේ ගති වල ඇති භයානක කම නිසරු බව, අනාථ වීමට හේතුවන බව යථා පරිදි දැක ගත් ආර්ය ශ්‍රාවකයා ඒ කෙලෙස් ගති සහමුලින්ම උදුරා අස්කර දැමීමට කැමැත්තෙන්ම ක්‍රියා කරන්නෙකු බවට පත් වෙයි.

ගෞතම බෝසත්තුමන් ඇසතු වෘක්ෂය පාමුලදී බුද්ධ තත්ත්වයට පත් වූ බව ගිහි පැවිදි සෑම කෙනෙක්ම දන්නා, විශ්වාස කරන කරුණකි. නමුත් මෙතැනදි සිදු වු නියම, නිවැරදි සංසිද්ධිය කුමක්දැයි පරමාර්ථ වශයෙන් තේරුම් නොගැනීම බුද්ධත්වය පිළිබඳව ද තේරුම් නොගැනීමයි. ගෞතම බෝසත්තුමා මේ අවස්ථාවේ මාරයා සමග සටන්කොට මාරයා පරදවා, පසුව පැමිණි තන්හා, රතී, රඟා යන මාර දුවනියන් ද පරාජය කර බුද්ධත්වයට පත්

වූ බව බෞද්ධ සාහිත්‍යයේ හා බෞද්ධ ඉතිහාසයේ පෙන්වා දෙන සාමාන්‍ය පිළිගත් ප්‍රකාශනයයි. මෙය සම්මත විග්‍රහයක්ම පමණි.

බෞද්ධයින් යැයි කියා ගන්නා භක්තියෙන් බුදුන් අදහන බොහොමයක් පෘතග්ජන මිනිසුන් තවමත් දන්නේත්, අදහන්නේත්, අසා දැනගෙන ඇත්තේත්, එමෙන්ම සිතේ ධාරණය කරගෙන ඇත්තේත්, විහාරස්ථානවල හා වෙනත් පූජනීය ස්ථානවල ඇඳ ඇති සිතුවම් ආශ්‍රයෙන් කලාකරුවෙකු, සාහිත්‍යකරුවෙකු මතුකර පෙන්වා දුන් පරිදි, බුදුන් වහන්සේ මාර පරාජය කිරීමේ කථාව මිස නියම නිවැරදි බුද්ධත්වයට පත්වීම පිළිබඳව නොවේ. හුදී ජන පහන් සංවේගය ඇති කිරීම සඳහා කලාකරුවා සාහිත්‍ය කරුවා විසින් කරන ලද මෙවන් නිර්මාණයන් මොන්ටිසොරි පන්තියේ මට්ටමට දැනුමක් ඇති බාලයන් හට ගැලපෙතත් නිවන් මාර්ගයට අනුගත වන්නට උත්සාහ දරණ බුද්ධ ශ්‍රාවකයින්ට මෙය නොගැලපෙයි.

මාරයා, වසවර්ති මාර පුත්‍රයා, නමැති සැඩ පරුෂ රෞද්‍ර පුද්ගලයෙකු සමග බෝසත්තුමා යුද වැදුණු බවත්, බෝසත්තුමන්ට අනේකාකාර වූ බාධා පැමිණ වූ බවත්, වද දුන් බවත්, මේ රුදුරු සටන දුටු දෙවියන් බ්‍රහ්මයින් පවා බයේ පලා ගිය බවත් චිත්‍රයකට මවා පෙන්වන්නේ බෞද්ධ සාහිත්‍ය කරුවාය. කළාකරුවාය. එමෙන්ම තරුණ රූමත් තරුණියන් තුන්දෙනෙකු පැමිණ බෝසත්තුමන් ඉදිරියේ රඟපෑමක් කළ බව පවසන්නේත් සාහිත්‍යකරුවා සහ කලා කරුවාය.

බෞද්ධ සාහිත්‍යකරුවා, කලා කරුවා මෙන්ම චිත්‍ර ශිල්පියා ද බෞද්ධ ඉතිහාසය ලියු බොහෝ ගත්කතුවරුන් ද බුද්ධ චරිතයක් ගොඩ නගන්නට උත්සාහ කළ බව පැහැදිලිවම පෙන්වා දිය යුතුය. නමුත් පරමාර්ථ වශයෙන් බුද්ධ ධර්මයේ හරය ලෙස පෙන්වා දුන් බුද්ධත්වයට පත්වීම යනු මීට හාත්පසින්ම වෙනස් සිද්ධියකි. මෙය අධ්‍යාත්මික විපර්යාසයකි. සිත හා මනස මුල්කරගෙන චේතෝ විමුක්තිය හා ප්‍රඥා විමුක්තියට පත්වීමකි. මෙවන් අධ්‍යාත්මිකව

සිදුකරගත් විශුද්ධියක්, විමුක්තියක් පෙන්වා දෙන්නට අපොහොසත් වූ කලාකරුවා බාහිර වශයෙන් යුද්ධයක් කරමින් මාරයා පරාජය කළ බව බුද්ධාගම් පොත්පත් වල ලියා තබා කුඩා දරුවන්ට උගන්වන ආකාරය නොමග යවන සුළු දර්ශනයකි. මෙම සාහිත්‍ය කරුවාගේ හා කලාකරුවාගේ සංකල්ප වලින් මිදී නිදහස්ව සිතා බුද්ධත්වයට පත්වීම යන්න පිළිබඳව යථාභූතඥාණ දර්ශනයක් ලබාගන්නට බෞද්ධයින් හැටියට අප උත්සාහ දැරිය යුතුය. කුඩා කාලයේ ඉගෙනගත් මේ අද්භූත අභව්‍ය දේ මිය යනතුරුම සිතෙහි දරාගෙන සිටින බොහෝ පෘතග්ජන පුද්ගලයින් අදටත් අප අතරම ජීවත් වෙයි.

චිත්‍ර ශිල්පියා, කලාකරුවා, සාහිත්‍යකරුවා මෙන්ම ඉතිහාසඥයා ද "බුද්ධත්වය" පිළිබඳව ආගම් අදහන්නන්ට, භක්තිවන්තයින්ට, ගැලපෙන ආකල්පයකින් බුද්ධ චරිතය දෙස බලන්නට මිනිසුන්ව පුරුදු කරන නමුත්, යථාවාදී තථාකාරී ලෙසින් පටු ආකල්ප වලින් ඔබ්බට ගොස්, පදපරම සම්මතයෙන් මිදී, පරමාර්ථ වශයෙන් බුදුන් දැක ගන්නට උත්සාහ නොකිරීම බලවත් වරදකි. අප බෞද්ධයින් හැටියට, නිවන් මාර්ගය සොයා යන්නන් හැටියට, හැම විටම අලුත් විධියකට සිතා බලා පරමාර්ථ ධර්මයම අවබෝධ කරගන්නට උත්සාහ දැරිය යුතුය.

''යෝ පටිච්ච සමුප්පාදං පස්සති
සෝ ධම්මං පස්සති
යෝ ධම්මං පස්සති
සෝ මං පස්සති

යන බුද්ධ භාෂිතයෙන් මෙය මොනවට පැහැදිළි කරදෙයි. මෙහි තේරුම යමෙක් බුදුන් දකින්නට නම් පටිච්ච සමුප්පාද ධර්මය නමැති හේතුපල ධර්මය පසක් කොට දැකගත යුතුය. මේ පදවැල් කියවීම හෝ පදපරම ලෙසින් එය දැන ගැනීම හෝ පමණක්ද මේ සඳහා ප්‍රමාණවත් නොවේ.

''බුද්ධ'' යන මාගධී පදයේ අර්ථය විග්‍රහ කර පෙන්වන්නට උත්සාහ කරන බොහෝමයක් සිංහල භාෂාව උගත් උගතුන් මේ

සඳහා අවබෝධය (බුද්ධ=අවබෝධය) යන පදය යොදා ගෙන ඇත. තවත් තැනකදී බුද්ධිය - බුද්ධිමත් යන පදය ද මේ සඳහා යොදාගෙන ඇත. බුද්ධ (භව+උද්ධ) (භූ+උද්ධ)යන පදවල ධර්ම අර්ථය වන්නේ උගත්කම, බුද්ධිමත්කම හෝ අවබෝධය යන සිංහල පදවලින් විග්‍රහ වන අර්ථය නම් නොවේ. එය වැරදි විග්‍රහයකි. බුද්ධ, බුද්ධං, බුද්ධෝ යනාදී මාගධී පදවලින් විග්‍රහ වන්නේ ''භව උදුරා දැමූ'' යන අර්ථයයි. එනම් රාග බව, ද්වේෂ බව, මෝහ බව (කෙලෙස් භව) උදුරා දැමූ යන අර්ථය එහි ඇත.

බුද්ධිමත් යන පදයෙහි අර්ථය වන්නේ භව+වෘර්ධිය යන්නයි. ලෝකය සකස්කර දිගටම පවත්වාගෙන යන්නට නම් රාග බව, ද්වේෂ බව හා මෝහ බව වර්ධනය කරගත යුතුයි. භව වෘර්ධිය (බුද්ධිය) නිසා මිනිසුන් බුද්ධිමත් යන තත්වයට පත්වෙයි. එනම් මත්වීමේ ස්වභාවයකි. භව (බව) යන පදයෙහි බිහිකිරීමට උපකාර වන, යන අර්ථයක් ඇත. එමෙන්ම භව යනු බීජ අවස්ථාව ලෙසින් ද පෙන්වාදිය හැකිය. උප්පජ්ජති යන අවස්ථාවට පෙර අවස්ථාව ''භව'' අවස්ථාවයි. බීජ අවස්ථාවයි.

පුද්ගලයෙකුගේ සත්වයෙකුගේ ඉපදීම පැවැත්ම, ජීවත්වීම මෙන්ම පංචස්කන්දයන් උපාදානය කරගැනීම යලි යලිත් මතු මතුවටත් සිද්ධ කරන්නේම, නිර්මාණය කරන්නේම ප්‍රිය දේට ඇලෙන රාගබව, අප්‍රිය දේට ගැටෙන ද්වේෂ බව හා ප්‍රිය අප්‍රිය අතර මනින (මානය) මුලාබව (මෝහබව) යන මූලික ගති ලක්‍ෂණයන් තුනම තම තමන් තුළම ක්‍රියාත්මක වන හෙයිනි. මේ ගති ලක්‍ෂණයන් තුනම පෘතග්ජන පුද්ගලයෙකුගේ සිතක් තුළ නිරන්තරවම උපත ලබන, නිර්මාණය වන, සමුදය වන ගති නිසාම මේවා ''භව'' යන පදයෙන් ද විග්‍රහ කර පෙන්වා දුන්හ. ''උපාදාන පච්චයා භව, භව පච්චයා ජාති'' යනුවෙන් පටිච්ච සමුප්පාද විග්‍රහයේදී මෙය පැහැදිලි කර පෙන්වා දී ඇත.

රාග ගතිය පවතිනා තුරාවට සිතක යලි යලිත් ''රාග බව'' උපදින බවත්, ද්වේෂ ගතිය පවතින තුරාවට සිතක යලි යලිත් ''ද්වේෂ බව'' උපදින බවත්, මෝහ ගතිය සිතක පවතින තුරාවට යලි යලිත් ''මෝහ බව'' උපදින බවත්, ධර්මයේ පෙන්වා දී ඇත. මේ අනුව රාග ගති හා රාග බව යනු එකක්ම නොවේ. ගති හා භව යනු අවස්ථා දෙකකි. රාග ගතිය සිතක් තුළ තැන්පත් වූ ඇතුළට ගත් දෙයකි. ''ගති'' යනු ගන්නවා, ගත්තා, තැන්පත් කරගත්තා යන අර්ථයයි. ''බව'' යනු අලුතින් බිහිකර, නිර්මාණය කර ගන්නවා යනුයි. යලි යලිත් අලුතින් නිර්මාණය කර නොගත්තේ නම් ''භව'' අනුත්පාද නිරෝධ වෙයි. යලි නොඋපදියි. මේ අනුවම ද්වේෂ බව හා මෝහ බව යන පදවලින් ද අර්ථ ගැන්වෙන්නේ අලුතින් බිහිකර නිර්මාණය කර ගත්තා යනුයි. ''පුනබ්බවෝ'' ''යායං තන්හා පුනබ්බවෝ'' ''නත්ථි දානි පුනබ්බවෝ'' යනාදි වශයෙන් පෙන්වා දුන්නේ මෙසේ අලුතින් නිර්මාණය කිරීම හා නිර්මාණය කිරීම නැවැත්වීම පිළිබඳවයි. මේ නිසා භව, සංභව, පුනබ්බව ආදී සියලුම පදවල අර්ථය අලුතින් බිහිකර නිර්මාණය කර ගැනීමයි. මෙසේ අලුතින් නිර්මාණය කර ගන්නා දේ රාග අනුසය, පටිඝ අනුසය අවිජ්ජා අනුසය ලෙසින් ද ධර්මයේ පැහැදිලි කර දී ඇත.

ජීවත්වීම, පැවැත්ම දිගටම පවත්වාගෙන යාම, පිළිබඳව යම් අවබෝධයක් පමණක් ලැබූ පුද්ගලයා පෘතග්ජන පුද්ගලයෙකි. චතු අරිය සච්චයන් පිළිබඳව සත්‍යාවබෝධය (සච්චිකිරියාය) ලබා ''බව උදුරා දැමූ'' පුද්ගලයා බුද්ධත්වයට පත් වූ උත්තමයායි. අවබෝධය හා සත්‍යාවබෝධය යන පද දෙකෙහි අර්ථයන් ද වෙනස්ය. අවබෝධය යන්න ලෝකය පිළිබඳව යම් විෂයානුබද්ධ දැනුමක් ලැබ ගැනීමයි. සත්‍යාවබෝධය යනු ලෝකය විද බලා ලෝකයෙන් එතෙර වන්නට හැකි ශක්තිය ලබා ගැනීමයි. මේ අනුව අවබෝධය යන්න ලෞකික වූත් නිවනට ප්‍රමාණවත් නොවූත් දැනුමකි. මහාචාර්යවරයෙකුගේ දැනුම අවබෝධයයි. සෝතාපත්ති ඵලයට පත්වුවෙකුගේ දැක්ම සත්‍යාවබෝධයයි. මේ දෙක සමාන කළ නොහැකිමය.

මේ අනුව රාග බව, ද්වේෂ බව, මෝහ බව සිතින් උදුරා ඉවත් කර දැමීමේ ඥාණයන්ම බුද්ධ ඥාණයන් වේ. රාග බව, මෝහ බව, ද්වේෂ බව උදුරා දමන බලයම බුද්ධ බලය වෙයි. රාග බව, ද්වේෂ බව, මෝහ බව සහමුලින් උදුරා දමා ලබන විමුක්තියම ප්‍රඥා විමුක්තිය වේ.

පටිච්ච සමුප්පාද ධර්මය නොදැන, යථාපරිදි පටිච්චසමුප්පාද විග්‍රහයේ තිපරිවට්ටයම තේරුම් නොගෙන, චතුරාර්ය සත්‍යයන් අවබෝධ කර ගත නොහැකිය. භව නිරෝධ කර, ජාති නිරෝධ කළ නොහැකිය. සම්මා අංගයන් තේරුම් ගත නොහැකිය. සම්මා දිට්ඨියට පත්වීම හෝ සම්මා සමාධියට පත්වීම හෝ සම්මා ඥාණ ලැබීම හෝ සම්මා විමුක්තියට පත්වීමට හෝ හැකිවන්නේ පටිච්ඡ සමුප්පාද විග්‍රහයේ කුසලමූල උද්දේසය නිවැරදිවම දැන අනුගමනය කිරීමෙන්ම පමණි.

සම්මා සම්බුද්ධත්වයට පත්වීම නමැති අසිරිමත් සිදුවීම සිදුවන්නේ අරිය පර්යේෂණයක යෙදෙමින්, සංඛාර නිරෝධ කර, භව උදුරා ඉවත්කර අස්කර දමන්නට ක්‍රියාකිරීම මගින්ම පමණි. ''භව නිරෝධෝ ජාති නිරෝධෝ'' යන්න මෙහිදී සම්පූර්න කරගත යුතුය.

සම්මා සම්බුද්ධත්වයට පත්වන සියලුම උත්තමයින් (තුන්තරා බෝධියෙන්ම) ආර්ය අට්ඨාංගික මාර්ගය සම්පූර්ණ කරගෙන, සම්මා ඥාණ ලබාගෙන (බුද්ධ ඥාණයන්) සම්මා විමුක්තියට පත්විය යුතුමය. මේ සඳහා සම්මා දිට්ඨියම මුල් වේ. (සම්මා දිට්ඨි පුබ්බංගමා) අරිය අෂ්ඨාංගික මාර්ගය සම්පූර්ණ කරගත් පසුව පමණක් නවවැනි අංගය වූ සම්මා ඥාණ එනම් බුද්ධ ඥාණයන් ලැබෙයි. ඒ බුද්ධ ඥාණයන් ලැබූ උත්තමයා කෙලෙස් මුල් උදුරා දමයි. මෙහිදී සඳහන් වන බුද්ධ ඥාණයන් යනු භව උදුරා දමන යන අර්ථය ගෙන දෙන බුද්ධ ඥාණයෝයි. කෙලෙස් උපත ලබන මුල් වන්නේ රාග බව, ද්වේෂ බව හා මෝහ බව යන මුල් තුනයි.

මෙසේ කෙලෙස් මුල් උදුරා දැමූ පසුව පමණක් සම්මා විමුක්තිය නමැති දස අංගයම සම්පූර්ණ වී අරහත් ඵලය සාක්ෂාත් කරගනී.

''බෝධිසත්ව'' යන අවස්ථාවේදී භව උදුරා දමන්නට උපකාර වන පරියේෂණයන් කරමින්, ඊට අවශ්‍ය වන්නා වූ කරුණු කාරණා සොයමින් සිටින අවස්ථාවයි. බුද්ධත්වයට පත් වූ බුදුපියාණන් වහන්සේම වරක් මේ බව ප්‍රකාශ කර ඇත. (සංයුත්ත නිකාය - නගර සූත්‍රය) ''පුබ්බේව මේ භික්ඛවේ සම්බෝධා, අනභිසම්බුද්ධස්ස, අසම්බුද්ධස්ස, බෝධිසත්තස්සෙව, සතෝ එතදහෝසිං නිච්චං වතායං ලෝකෝ ආපන්නෝ ජායති ච, ජීයති ච, මීයති ච, චවතිච, උප්පජ්ජති ච, අථ ච පනිමස්ස දුක්ඛස්ස නිස්සරණං නප්පජානාති''

බුද්ධත්වයට පත්වූ පසුව, තමන් වහන්සේම බුද්ධත්වයට පත්වන්නට පෙර බෝධි සත්වයන් ලෙසින් අවබෝධ කරගන්නට බැරිවූ බොහෝ දේ දැන් යථාභූත ඥාණයෙන් ප්‍රත්‍යක්ෂ කර දැක ගත් බව මෙයින් පැහැදිලි කරයි.

''පුබ්බේව මේ සම්බෝධා'' යනුවෙන් ප්‍රකාශ කලේ සම්බුද්ධත්වට පත්වන්නට පෙර තමන්වහන්සේ අසම්බුද්ධ විය. අනභිසම්බුද්ධ විය. බෝධි සත්තස්ස විය. එනම් භව උදුරා නොදැමූ, භව උදුරා දමන්නට නොදත්, භව උදුරා දමන මග සොයමින් ගිය කෙනෙකු පමණක් විය යන්න මෙහි තේරුමයි. හේතුඵල ධර්මය ගැන පූර්ණ අවබෝධයක් නොතිබූ බවත් (නප්පජානිති) උපත, ජිවත් වීම, පැවැත්ම, මියයාම වැනි දේ හේතුවක් නිසාම සිදුවන හේතුඵල දහමටම අදාල බව යථාභූත ඥාණයෙන් අවබෝධ කර ගන්නට අසමත් වූ බවත් ප්‍රකාශ කළහ. සියලුම ලෝකසත්වයා මේ ජීවිත පැවැත්මෙන් මිදී නිදහස්වන්නට නොදැන, ඉන් මිදිය නොහැකි ආකාරයෙන්ම, උගුලකට අසුවී සිටී. යලි යලිත් උගුලටම අසුවීම මිස ඉන් මිදී නිදහස්වීමට මගක් නොදනී (නප්පජානාති) උපතක් ලබයි. ජීවත්වෙයි. දුක් විඳියි. මිය පරලොව යයි. සැප හඹාගොස් දුකම

උරුම කරගැනීමක් විනා වෙනත් කිසිදු හරයක් මේ ජීවිත පැවැත්ම පවත්වාගෙන යාමේ නැති බව තේරුම් ගන්නට බැරිවීමමම මේ උගුලෙන්ද මිදී නිදහස් වන්නට බැරි වීමයි.

මෙවන් සියළුම ප්‍රශ්න වලට, ගැටලු වලට මුල් වූ හේතුව වන්නේ ඇස, කණ, නාසය, දිව කය හා මන යන ආයතනයන් හයෙන්ම ප්‍රියමනාප දේවලට සම්බන්ධවීමයි. බැඳීමයි. ආලය, ආදරය, ඇලීම, තන්හාවීම, උපාදානය කර ගැනීම ආශාව, ලෝභකම යනාදී පද වලින් විග්‍රහ කර පෙන්වා දෙන ලද්දේ ප්‍රිය වින්දනය, ආස්වාදය යලි යලිත් විඳවීමේ, පිනවීමේ අවශ්‍යතාවයයි. කැමැත්තයි. මනාපයයි. එයම රාගී බවට පත්වීමට හේතුව ද වෙයි. ලෝභ බව, තන්හා බව මේ නිසාම සිතක උපත ලබයි. මෙවන් වූ රාග බව, ලෝභ බව, තන්හා බව සිතින් උදුරා ගලවා දමා උපේක්ඛා සිතක් ඇති කර ගැනීම දුක නැති කර ගැනීමේ නිවැරදි මාර්ගයයි. එයම බව උදුරා දමා බුද්ධ බවට පත්වීමයි. මෙසේ සසරට බැඳ තබන බැමි නිර්මාණය කරන රාග බව, ලෝභ බව, ද්වේෂ බව, මෝහ බව මිනිසෙකුට මනස මෙහෙයවා තම සිතින්ම උදුරා ඉවත්කර දමා නිදහස්වීමේ මාර්ගයක් ක්‍රමවේදයක් නැත්නම් බුද්ධත්වයට පත් වූ බුදු කෙනෙක් ලෝකයාට මෙවන් බුද්ධ ධර්මයක් දේශනා කරන්නේ ද නැත. මේ රාග බව, ද්වේෂ බව, මෝහ බව ප්‍රායෝගික ක්‍රියාමාර්ගයක් අනුගමනය කිරීමෙන්ම සිතින් ගලවා උදුරා දමා ඉන් නිදහස් විය හැකි නිසාම බුද්ධ ධර්මය දේසනා කර ලෝකයාට නිවැරදි මග පෙන් වූ සේක.

පෘතග්ජන ලෝකයා රාගයෙන් මත් වී, ද්වේෂයෙන් මත් වී, මෝහයෙන් මත් වී මානයෙන් මත්වී ක්‍රියාකරන ධර්මතාවයක් ලොවපවතී. ප්‍රිය, අප්‍රිය දේවල්වලට මෙසේ මත්වී ක්‍රියා කරන පෘතග්ජන ලෝකයාට සංසාර දුකෙන් මිදී නිදහස් වන නිවැරදි මාර්ගයක් ගැන හිතා ගන්නට වත්, කල්පනා කරන්නටවත් ශක්තියක් හෝ හැකියාවක් නැති වන්නේ ඔවුන් රාග ද්වේෂ මෝහ ගති නිසා මත්

වී, උන්මත්තකයින් ලෙසින් ක්‍රියා කරන්නට වීම නිසාය. ''සබ්බේ ප්‍රථුග්ජනා උන්මත්තකා'' යැයි පැවසුවේ ඒ නිසාය. මේ අනුව පෘතග්ජන ලෝකයා සැප හඹායන නමුත් එසේ සැප සොයා හඹායන්නේ තමන්ම මත්වීමේ ප්‍රතිඵලයක් නිසාම බව ඔවුන්ට තේරුම් ගත නොහැකිය. මේ අනුව ප්‍රශ්නයෙන් මිදී දුකෙන් නිදහස් වන්නට කල්පනා කරන හැම විටකම පෘතග්ජන ලෝකයා යළිත් කරන්නේම තව තවත් පංචස්කන්ද ලෝකයම උපාදානය කරගෙන අලුතින් තව තවත් ප්‍රශ්න හා ගැටලු වලට පටලැවීමයි. මෙය අවිද්‍යාවයි. නොදන්නා කමයි. දුකෙන් මිදී නිදහස් වන්නට තාවකාලිකව යොදන සියලුම පිළියම් යලි යලිත් බහුල ලෙසම දුකටමපත් කරවන ආකාරයේ ඒවාමය. මේ නිසා දුකට මුල්වූ හේතුවම සොයා දැන ''භව'' උදුරා දැමීම මගින්ම නිබ්බාන ගාමී විය යුතුය.

රාග බව, මෝහ බව, ද්වේෂ බව උපදින්නේම සිතකය. අලුතින් මෙසේ උපත ලබන ''භව'' උදුරා ඉවත් කරන්නට ක්‍රියා කිරීම බෝධි පාක්ෂික ධර්මයන් සම්පූර්ණ කිරීමට ක්‍රියා කිරීමයි. බෝධිසත්ව තත්වය එයයි.

## 2. භව නිරෝධෝ ජාති නිරෝධෝ

මාගධී බුද්ධ භාෂිතයේ පෙන්වා වදාල භව (සංභවං, සමුදය, සංභූතං) යන පදයන් හා ජාති (උප්පජ්ජති, උදය, උත්පත්ති) යන පදවල අර්ථය නිවැරදිව තේරුම් ගත යුතුය.

නූතන ගිහි පැවිදි බොහෝ උගතුන් ලියු හා පරිවර්තනය කළ බොහොමයක් සිංහල පොත් පත් වල භවය ( බවය) යනුවෙන් වැරදියට පදයක් ලියා දක්වා භාවිතා කරන අතර මාගධී භාෂාවේ භවය (බවය) යනුවෙන් ලියා පදයක් භාවිතා කර නැති බව පෙන්වා දිය යුතුය. ''උපාදාන පච්චයා භව, භව පච්චයා ජාති'' යනුවෙන් පෙන්වූ තැනට 'ය' යන්නක් එකතුකර ලිවීම හෝ කියවීම ද වැරදිය. එය බුද්ධ ධර්මය විකෘති කිරීමකි.

බුද්ධ දේශනාවේ භව, සංභව (බීජ) යන පදවලින් පෙන්වුයේ හෝ අදහස් කලේ උපත හෝ ජාති හෝ නොවේ. මේ පදයෙන් (භව) විග්‍රහ කළේ කර්ම බීජ අවස්ථාවයි. එනම් උපතට පෙර අවස්ථාවයි. බීජයක් සකස් නොවුන හොත් පැලයක් උපද්දවිය නොහැකිය. පටිච්ච සමුප්පාද විග්‍රහයේ එන ''උපාදාන පච්චයා භව, භව පච්චයා ජාති'' යනුවෙන් පෙන්වා වදාල ආකාරය ඉතාම පිරිසිදුව තේරුම් ගත හැකිය.

''යායං තන්හා පොනොභවිකා, පුනබ්බවෝති'' මේ ආදි පදවලින් ද පෙන්වා දුන්නේ ''භව'' (බීජ) අවස්ථාවයි. මෙහි අර්ථය නම් යමක් යලි යලි උපත ලබන්නේම බීජ නිපදවන නිසාමය යන්නයි. බීජ බිහි නොකරන අවස්ථාවක උපතක් සිද්ධ විය නොහැකිය. (නත්ථි දානිපුනබ්බවෝ) මේ අනුව පුනරුත්පත්ති කථාවක් බුද්ධ ධර්මයට නොගැලපේ. පුන පුනා'භව' බිහිවීම පුනබ්බවෝති යන්නයි. එය බුදු දහමට ගැලපෙයි.

කර්ම බීජ සිතක් තුළ උපත ලැබීමේ ක්‍රමය තමන් තුළින්ම තේරුම් ගෙන, කර්ම බීජ සහමුලින්ම උදුරා ගලවා දමා යලි කර්ම බීජ නොඋපදින ලෙසින්ම (අනුප්පාද ලෙසින්) සිත පිරිසිදු කරගැනීම සඳහා භව උදුරා දැමිය යුතුය. මෙසේ භව උදුරා දැමූ බුදුපියාණන් වහන්සේම මෙවන් ප්‍රකාශයක් කර වදාලහ.

ඥාණංච පනමේ දස්සනං උදපාදි,
අකුප්පා මේ චේතෝ විමුක්ති
අයමන්ති මා ජාති, නත්ථිදානි පුනබ්භවෝ''

තමන් තුළ මතු මතුත් ජාති උපදවා ගන්නා බීජ ශක්තිය දැන් නැති බවත්, බිහි කිරීමේ ශක්තිය වූ 'භව' මුලින්ම උදුරා අස්කර දැමූ බවත්, ඒ අනුව යලි උපතක් නොලබන අතර මේ තමන්ගේ අවසන් උපතයි යන්න ද මෙහි දී ප්‍රකාශ කළ සේක.

මේ අනුව සංසාර දුකෙන් මිදී නිදහස්වන්නට නම් මතු උපතක් (ජාති) ලැබීම, අවසන් කළ යුතුය. උපතට මුල් වූ හේතුව වන්නේ 'භව' සක්‍රියව පැවතීමයි. භව යලිත් බිහි කිරීම (බීජ සකස් කිරීම) නවතා දැමූ පසුව, භව උදුරා දැමූ පසුව, යලි සසරට බැඳෙන බැමි ද සකස් නොවේ. මෙය බුද්ධ තත්ත්වයට පත්වීමයි.

භව උදුරා දමන්නට උපකාර වන ක්‍රියාකාරකම් - කරණීය ධර්ම - තේරුම් ගෙන එය ක්‍රියාත්මක කිරීම භව+උද්ද වශයෙන් පෙන්වා දුනි. බෞද්ධ යනුවෙන් මෙය සම්මත භාෂාවේ සඳහන් වෙයි. කරණීය ධර්ම කරන, අකරණීය ධර්ම නොකරන පුද්ගලයා බෞද්ධයෙකි.

භව උදුරා දැමූ පසුව එය අතීතයට ගිය අතීත දෙයක් වේ. භූ+උද්ද බුද්ධ යන මෙම අතීතකාල පදය භාවිතා වන්නේ භව උදුරා දැමූ උත්තමයින් සඳහාම පමණි.

ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්, දොම්නස් උපායාස ආදී සියල්ලම උපතක් සිද්ධවීමත් සමගම උරුම වන පලවිපාකයන්ය. මේ සියලු ආකාර වූ දුක් කන්දරාවෙන්ම නිදහස් වන්නට නම් උපත නම් වූ හේතුවෙන්ම නිදහස් විය යුතුමය. උපත සිදුවන හැම විටකම ජාති, ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්, දොම්නස් ඒ සමගම උරුම වෙයි. උපතට ද නියත වූ, මුල් වු හේතුවක් ඇත. උපතට හේතුව කර්ම බීජ නිපදවීම හා නිපද වූ බීජ සක්‍රියව පැවැතීමයි. කර්මබීජ යනුවෙන් අදහස් කලේ කෙලෙස් ගතීන්ය. කෙලෙස් ගති රඳා පවතින්නේ බඹයක් පමණ වූ ශරීර කූඩුව තුළම ඇති මනෝමය කය තුළය. මේ අනුව තමන්ගේම මනෝමය කය තුළ ගබඩා වී පවතින කෙලෙස් ගති නිවැරදිවම දැන හඳුනාගෙන ඒ කෙලෙස් ගතීන් උදුරා දමා යලි කෙලෙස් බව නොඋපදවන්නටම උපකාර වන ප්‍රතිපදාව අනුගමනය කිරීමෙන් භව උදුරා දැමීම ද සිද්ධ වෙයි. මෙසේ කෙලෙස් ගති සහමුලින්ම උදුරා දමා යලි කෙලෙස් නොඋපදින තත්ත්වයට පාරිශුද්ධ වූ උත්තමයා බුද්ධත්වයට පත් වූ උත්තමයෙකි. ලොව්තුරා

බුද්ධ, පච්චේක බුද්ධ, අරහත් බුද්ධ යන කුමන තත්ත්වයකින් බුද්ධත්වයට පත්වුවත් ''භව උදුරා දැමීම අනිවාර්යයෙන්ම සිදුකරගත යුතුමය. භව උදුරාදමා ඉන් නිදහස් වු සියලුදෙනාම අරහතුන්වහන්සේලාය. ප්‍රඥා විමුක්තියට පත් වූ අයය. චතුරාර්ය සත්‍යය අවබෝධ කරගත් ආර්යයන්වහන්සේලාය. සංසාර රිය ගමන ඉදිරියටත් පැවැත්වීම නවතා දැමුවන්ය.

''චර'' බව අවසන් කළ නිසා කාමාවචර ලෝකවල හෝ රූපාවචර ලෝකවල හෝ අරූපාවචර ලෝකවල හෝ යලි නොඋපදියි. මේ නිසාම ''විජ්ජාචරණ සම්පන්න'' නමින් ද හඳුන්වයි. කාමාවචර යනු කාම ලෝකවල සැරි සැරීමයි. රූපාවචර යනු රූපලෝකවල සැරි සැරීමයි. අරූපාවචර යනු අරූපී ලෝකවල සැරි සැරීමයි.

මෙහිදී රාග විරාග කර, අවිජ්ජා විහතා කර, තමෝ විහතා කර, විජ්ජා අධිගතා, විජ්ජා උදපාදි, අලෝකෝ උදපාදි යන ශුද්ධ වූ තත්ත්වයට ද පත්වෙයි. චර බව නවතා දැමීම ''චරණ'' යන්නෙහි තේරුමයි.

භව උදුරා දමා බුද්ධත්වයට පත්වූ උතුමන් ''විරජං වීතමලං'' යනුවෙන් ද බුද්ධ දේශනාවේ හඳුන්වයි. මෙහිදී විරජං යනු හය ආකාර වූ රජස් උදුරා ගලවා ඉවත් කිරීමයි. රාගය උපදින්නේම රජස් උපදින නිසාමය. මලං යනු මලකඩ කා මොට්ට වීමයි. මෝහයයි. වීතමලං යනු කෙලෙස් කපා බැමි සිඳ දමන්නට උපකාර වන ආකාරයෙන් මනීන්ද්‍රිය පන පෙවීමයි.

බුද්ධත්වයට පත්වූ ගෞතම බුදුපියාණන්වහන්සේ එදා පස්වග මහනුත් ඇතුළු පිරිසට ධම්මචක්කපවත්වන සූත්‍රය දේශණා කරන අවස්ථාවේදී එය ශ්‍රවණය කළ කොණ්ඩඤ්ඤ හාමුදුරුවෝ චතුරාර්ය සත්‍යයන් අවබෝධ කරගෙන, පටිච්චසමුප්පාද ධර්මයද අවබෝධ කරගෙන, දහම් ඇස පහදාගෙන සම්මා දිට්ඨියටම

පත්වූහ. මෙසේ දහම් ඇස පහදා, දස්සනේන සංපන්නවීමට උපකාර වූ දැක්ම - සම්මා දිට්ඨිය - ලෝකෝත්තර සම්මා දිට්ඨියයි. ධම්මෝ සංදිට්ඨිකෝ, සම්මදක්ඛාතා යන තත්ත්වයන්ට පත්ව - ''යං කිංචි සමුදය ධම්මං, සබ්බත්තං නිරෝධ ධම්මං'' යන්න ද යථාපරිදි දැකගත්හ. එනම් සමුදය යන්න තේරුම් ගෙන - 'සං' දැක සමුදය නිරෝධ කළ යුතුය යන ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත්ව සම්මා අංගයන් අටම යථා පරිදි තේරුම් ගත්හ.

බඹයක් පමණ වූ මේ ශරීර කූඩුව ආශ්‍රයෙන්ම තුන්ලෝකයම පවතින බවත්, ඒ කාමලෝක, රූපලෝක, අරූපලෝක නමැති තුන්ලෝකයම උපද්දවා ගන්නේ රාග අඳුර, ද්වේෂ අඳුර හා මෝහ අඳුර නිසාම බවත් බුදුපියාණන් වහන්සේ පැහැදිලිව පෙන්වා වදාලහ.

රාග විරාග කර, අඳුර විහතා කර, (තමෝ විහතා) විජ්ජා අධිගතා යන තත්ත්වයට පත්වීමේදී මෙවන් වූ ලෝක අඳුර දුරුවී අලෝකෝ උදපාදි වෙයි. විජ්ජා උදපාදි වෙයි. පඤ්ඤා උදපාදි වෙයි. අලෝකෝ උදපාදි යනු තුන්ලෝක අඳුරම දැක, තේරුම් ගෙන කෙලෙස් අඳූර දුරු කිරීමයි. භෞතිකවූත්, ලෞකිකවූත් මේ තුන්ලෝකයම නිර්මාණය කරගත්තේ තන්හාව හා අවිද්‍යාව පවතින නිසාය. අඳුර නිර්මාණය කරගන්නේ කෙලෙස් ගති (ආසව, අනුසය) උපදින තාක්කල් පමණි. රාගය, ද්වේෂය, මෝහය යන ගති තුනම තම සිත තුළම මුල්බැස ගෙන පවතින බව තේරුම් ගෙන මේ ගතිතුනම සහමුලින්ම උදුරා ඉවත්කර දැමීම ''භව'' උදුරා බුද්ධ බවට පත්වීම. තම චිත්තසංථානය තුළ උපදින, ක්‍රියාත්මක වන, පැලපදියම් වන මේ වැරදි සහගත වූ කෙලෙස් ගති තුන වෙනත් බාහිර කිසිවෙකුට වත් උදුරා ඉවත් කර දමන්නට නොහැකි බවත්, තමන්ටම එය උදුරා ඉවත්කර දමන්නට හැකි බවත්, මනා කොට තේරුම් ගත් පුද්ගලයා අරිය ශ්‍රාවකයෙකු, සද්ධස්ස කුලපුත්‍රයෙකු බවට ද පත්වෙයි.

## 3. බුද්ධත්වයට පත්වන සියළුම උත්තමයින් පහත සඳහන් කරනු ලබන ගුණාංගවලින්ද පරිපූර්ණ වෙයි.

1. බුද්ධ තත්වය, බුද්ධ බව, යනු තුන්තරා බෝධියෙන් එක්තරා බෝධියකින් බුද්ධත්වයට පත්වීමයි. භව උදුරා අස්කර දැමීමයි. ලොව්තුරා බුදුපියාණන් වහන්සේලාත්, පසේ බුදුවරුන් වහන්සේලාත්, සියලුම අරහත් බුදුවරුන් වහන්සේලාත් ''භව උදුරා දැමූ'' - සියලු කෙලෙස්බැමි කපා සිඳ දැමූ උතුමන්ය. ඒ නිසාම බුද්ධ නම් විය.

2. බුද්ධත්වයට පත්වූ උතුමන් වහන්සේලා හැම කෙනෙක්ම චතුරාර්ය සත්‍යයන් මනාකොට අවබෝධ කරගත් ආර්යයන් වහන්සේලා වෙති. දුක්ඛේ ඥාණං, දුක්ඛ සමුදයේ ඥාණං දුක්ඛ නිරෝධේ ඥාණං, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ඥාණං යන අරිය සත්‍යයන් හතරම මනාකොට අවබෝධ කරගෙන ආසය, අනුසය යනු කිමැයි තේරුම් ගෙන, ආසව සමුදය වන ආකාරය දැක, ආසය, අනුසය නිරෝධ කරන්නට ක්‍රියාකර, ආසය අනුසය නිරෝධ ගාමිණී ප්‍රතිපදාව ජීවිත කාලය තුළම ක්‍රියාත්මක කරන උතුමන් වෙයි. ඒ නිසාම බුද්ධ නම් විය.

3. ආර්ය අට්ඨාංගික මාර්ගය, ලෝකෝත්තර නිවන් මාර්ගය ලෙසින්ම අවබෝධ කරගෙන සම්මා දිට්ඨියේ පටන් සම්මා සමාධිය තෙක්ද, සම්මා ඥාණ, සම්මා විමුක්ති යන බුද්ධ ඥාණ, විමුක්ති ඥාණ දර්ශනය යථාපරිදි අවබෝධ කරගත් උතුමන් වෙයි. (ලෞකික අට්ඨාංගික මාර්ගයකුත් පවතින බවත්, ඒ නිවනට ප්‍රමාණවත් නොවෙන බවත්, ඒ ලෞකික සම්මා අංගයන් ආමිස සහිත වූ පුන්‍යභාගී වූ, යලි පලවිපාක උරුම කර දෙන (උපධිවිපක්ඛා) බවත්, යථාපරිදි තේරුම්ගෙන ලෝකෝත්තර ආර්ය අට්ඨාංගික මාර්ගයම

සොයා දැන අවබෝධ කරගත යුතුයි.) මේ අනුව ''සම්මා'' අංග (10) සම්පූර්ණ කරගැනීම බුද්ධ බවට පත්වීමයි.

4. උභතෝ භාග විමුක්තියම සම්පූර්ණ කරගත් උතුමන් බුද්ධ බවට පත්වූ අයයි. චේතෝ විමුක්තිය නම් වූ රාග විරාග කිරීමත්, ප්‍රඥා විමුක්තිය නම් වු අවිජ්ජා විහතා කරමින් විජ්ජා අධිගතා තත්ත්වයට පත්වීමත්, උභතෝ භාග විමුක්තියට පත්වීමයි. මෙතැනදී ලබන චේතෝ විමුක්තිය අකුප්පාචේතෝ විමුක්තියයි. ප්‍රඥා විමුක්තිය නිසාම අකුප්පා චේතෝ විමුක්තියද ලබාගනී. විමුක්ති ඥාණ දර්ශනය ලැබීම විවට්ටේ ඥාණ දර්ශනය පහලවීම, පටිපස්සදි ඥාණ දර්ශනය ලැබීම ප්‍රඥා විමුක්තිය ලැබීමේ ප්‍රතිඵලයක් ලෙසින් ක්‍ෂාත් ක්‍ෂාත් කරගනී. මේ අනුව උභතෝ භාග විමුක්තිය සම්පූර්ණ කර ගැනීම බුද්ධ බවට පත්වීමයි.

5. තුන්තරා බෝධියක් අතරින් එක්තරා බෝධියකින් බුද්ධත්වයට පත් වූ සියලුම උතුමන් ''ත්‍රි විද්‍යා අධිගතා'' විය. ත්‍රි විද්‍යාලාභීන් විය. පුබ්බේ නිවාසානුස්සති ඥාණය, චුතූපපාද ඥාණය, ආවසක්ඛයේ ඥාණය යන බුද්ධ ඥාණ තුන ත්‍රිවිද්‍යා යන්නට අයත්ය. අභිඥාලාභී, අනාර්ය ධ්‍යානලැබූ, කිසිවෙකුට හෝ මෙම ත්‍රිවිද්‍යා ඥාණ නොලැබෙයි. අෂ්ඨ අභිඥාලාභීයෙකුට උවත් ත්‍රිවිද්‍යා ඥාණයන් ලබා ගැනීමට නොහැකිවී නම්, නැවත නැවත අපාගත වන්නට, සසර සැරිසරන්නට සිදුවෙයි. ත්‍රිවිද්‍යා ඥාණයන් ලබාගත හැකි වන්නේ බුද්ධ තත්වයට පත්වීමෙන්මය.

6. බුද්ධ තත්ත්වයට පත්වෙන සියලුම ආර්යයන් වහන්සේලා සතර මාර්ගයන් අනුගමනය කරමින්, ගමන් මග පසුකර, සතර පලයන්ටම පත්වූ උතුමන් වෙයි. සෝතාපන්න මාර්ගය පසුකර සෝතාපත්ති ඵලයට පත්වුහ. සකදාගාමී මාර්ගය

අනුගමනය කර සකදාගාමී ඵලයට පත්වූහ. අනාගාමී මාර්ගය අනුගමනය කරමින් අනාගාමී ඵලයට පත්වීය. අරහන්ත මාර්ගය අනුගමනය කරමින් අරහත් ඵලයට පත්වීය. මේ සතර මාර්ගයන්ම දැන, මාර්ගයන් අනුගමනය කරමින් සතර ඵලයන් ක්‍ෂාත් ක්‍ෂාත් කරගැනීම අනිවාර්යෙන්ම බුද්ධ බවට පත්වීම යනුවෙන් ද පෙන්වා දිය හැකිය. භව උදුරා දමා යලි උපතක් නොලබන තත්වයටම පත්වන්නට නම් (නත්ථි දානි පුනබ්භවෝ) සතර ඵලයන්ගේම අධිගමනය සම්පූර්ණ කරගත යුතුමය.

7. රාගක්ඛයෝ නිබ්බානං, ද්වේෂක්ඛයෝ නිබ්බානං, මෝහක්ඛයෝ නිබ්බානං - : පුද්ගලයා සත්වයා, දෙවි බඹුන් පවා, සසරට බැඳ තබන, බද්ධ කරන බැමි තුන රාග බැම්ම, ද්වේෂ බැම්ම, මෝහ බැම්මයි. පෘතග්ජන ලෝකයා තම ඉන්ද්‍රියයන් පිනවීමේදී ලෝකය උරාබීමේ ක්‍රියාවලිය ක්‍රියාත්මක කරන තුරුම මේ බැමි තුනම යලි යලිත් තමන්ම සකස් කරගනී. නිර්මාණය කරගනී. මේ බැමි තුනම කපා ඉවත්කර සිත නිදහස් කර ගැනීමෙන් ම නිබ්බාන තත්ත්වයට ද පත්වෙයි. බැමි තුනෙන්ම නිදහස්ව, බැමිතුනම කපා දැමීම භව උදුරා දැමීම - බුද්ධත්වයට පත්වීම යනුවෙන් ද බුද්ධ ධර්මයෙහි පෙන්වා දෙයි. යලි යලිත් සසර බැමි අලුතින් සකස් නොකරන පුද්ගලයා බුද්ධ නම් වේ.

8. බුද්ධත්වයට පත්වීම යනු සත්තිස් (37) බෝධිපාක්ෂික ධර්මයන්ම අවබෝධ කර ගැනීමයි. ''බෝධිපාක්ෂික'' යන පදයෙන් විග්‍රහවන්නේ බුද්ධ පාක්ෂික - භව උදුරා අස්කර දමන්නට උපකාර වන ධර්මය කොටස් 37කට බෙදා පෙන්වා දීමයි. සතර සතිපට්ඨානයන් වැඩීම, සතර සම්මප්ප්‍රධාන වැඩීම, සතර ඉර්ධිපාද ධර්මයන් සම්පූර්ණ කරගැනීම, පංච ඉන්ද්‍රිය ධර්මයන් මතුකර ගැනීම, පංච බල ධර්මයන්

බලගැන්වීම, සත්ත බොජ්ජංග (භව උද්ධ කරන ධර්ම බොජ්ජංග නම්වේ.) ධර්මයන් සම්පූර්ණ කරගැනීම හා ආර්ය අට්ඨාංගික මාර්ගය (සම්මා අංග) සම්පූර්ණ කරගැනීම මෙසේ අනුපිළිවෙලින් පූර්ණකරගත යුතු ධර්මයෝය. මේ සත්තිස් බෝධිපාක්ෂික ධර්මයන් සෑම එකකින්ම සිද්ධ කරගත යුතු වන්නේ තම සිත තුළම උපත ලබන කෙලෙස් ගති (භව) උදුරා ඉවත්කර අස්කර දමන්නට උපකාර වන ප්‍රතිපදාව ප්‍රායෝගික වශයෙන්ම අනුගමනය කරමින් බුද්ධ බවට පත්වීමයි. යලි යලිත් කෙලෙස් නොඋපදින ආකාරයෙන්ම කෙලෙස් මුල් උදුරා දමා තම සිත හා මනස යන දෙතැනම පිරිසිදු කර ගැනීමයි.

9. i සීල - සතර සංවර සීලය ii සමාධි - සමථ, විපස්සනා - අනුපස්සනා වැඩීමෙන් සංසිඳවීම හා iii පඤ්ඤා - සංමා අංග අට සම්පූර්ණ කර ගැනීම මගින් ද යමෙකු බුද්ධත්වයට පත්වෙයි. මේ අනුව සීල, සමාධි, පඤ්ඤා යන ත්‍රිශික්ඛා සම්පූර්ණ කර ගැනීම මගින් ද භව උදුරා දමා බුද්ධත්වයට පත්විය හැකිය. ''සං'' දැක ධම්මෝ සංදිට්ඨිකෝ - සම්මදක්ඛාතා - සම්මා දිට්ඨි යන තුන් ආකාර වූ ශික්ඛා සම්පූර්ණ කරගත හැකි වන්නේ ''සං'' තේරුම් ගත් පමණටමය. මේ අනුව සීල, සමාධි, පඤ්ඤා යන ත්‍රි ශික්ඛා සම්පූර්ණ කර ගැනීම ද බුද්ධත්වයට පත්වීමය.

10. පංචකාම නීවරණ ධර්මයන් තම සිතින් ගතෙන්,ක්‍රියාවෙන් සහමුලින්ම ඉවත් කර දැමීම ද බුද්ධ බවට පත්වීමයි. නිබ්බානගාමී වීමයි. පෘතග්ජන ලෝක සත්වයාට නිවන් අවබෝධ කරගත නොහැකි වන සේ නිවන ආවරණය වී පවතින්නේමමෙම පංචකාම නීවරණධර්මයන්ගෙන් නිවන ආවරණය වී පවතින හෙයිනි. කාමච්ඡන්දය, ව්‍යාපාදය, ථීනමිද්ධය, උද්දච්ච කුක්කුච්ච, විචිකිච්චිතාවය යන මේ

ධර්මතාවයන් පහ නිසාම කෙනෙකු තම නිවන වසාගෙන සසර දුක් විඳිමින් නොනවත්වාම ගමන් කරයි. ''වර'' බවට පත්වෙයි. මේ අනුව පංචකාම නීවරණ ධර්මයන් සහමුලින්ම ඉවත්කර දැමීම ද බුද්ධත්වට පත්වීමයි.

මෙම පංචකාම නීවරණ ධර්මයන් නිසා යමෙකුගේ සිතක් කිලිටි කර අඳුරු කරයි ද ඔහු පංචස්කන්ද ලෝකයම සාරයි කියා උපාදානය කරගනී. යලි යලිත් කෙලෙස් ගති සිතේ උපත ලැබීමත් සමගම සංසාර ගමන පවත්වාගෙන දිගින් දිගටම සසර ගමනේ ගමන් කරන්නට අවශ්‍යවන විඥ්ඥාණ ශක්තිය, විඥ්ඥාණ බීජ නිපදවා ගනී. බුද්ධ බවට පත්වීම යනු මේ පංචකාම නීවරණ ධර්මයන් සහමුලින්ම සිතින් උදුරා ගලවා ඉවත්කර අස්කර දමා යලි එවන් පංචකාම නීවරණ ධර්මයන් තම සිත තුළ නොඋපදවන්නටම අවශ්‍ය ප්‍රතිපදාව අනුගමනය කිරීමයි. දස සංයෝජනයන් ප්‍රහාණය වන්නේ මේ අනුවමයි.

මෙම කරුණු කාරනා දහය ගැනම ගැඹුරින් සිතා බලා තේරුම්ගන්නා විට ඔබට අවබෝධ විය යුතු වැදගත්ම දෙයක් ද මම මෙතැනදී ඔබට පැහැදිලි කර දෙන්නෙමි. මේ කරුණු කාරනා දහය තුළ කොතැනක හෝ ධ්‍යාන ගැන හෝ අභිඥා ගැන හෝ ඉර්ධිපාතිහාර්ය ගැන හෝ කසින භාවනා ගැන හෝ ධ්‍යාන සම්පූර්ණ කරගැනීමේ අවශ්‍යතාවයක් ගැන හෝ පෙන්වා දී නැති බව තේරුම් ගත යුතුය. යම් කෙනෙක් ධ්‍යාන ලැබීමට, අභිඥා ලැබීමට, ඉර්ධිප්‍රාතිහාර්ය පෑමට, බ්‍රහ්මත්වයට පත්වෙන්නට බලාපොරොත්තු වෙමින් යම් මාර්ග ප්‍රතිපදාවක් අනුගමනය කරන්නේ නම් එවන් දේ ලබාගත හැකි වන අතර ඒ මගින්ද නිවන් මග වැසී යටපත් වන්නේය. මේ අනුව තේරුම් ගතයුතු වැදගත්ම කාරනය වන්නේ ධ්‍යාන හෝ අභිඥා හෝ ලබාගැනීම, බුද්ධ බවට පත්වීමට, මගඵල ලබාගැනීමට අනිවාර්යයෙන් අවශ්‍ය වූ අංගයක් නොවන බවයි.

බුද්ධත්වයට පත්වන්නට පෙර බෝසත් වූ ගෞතම බුදුන්වහන්සේ ද අනාර්ය ධ්‍යානයන් අටටම පත්වීය. අභිඥාලාභියෙකු ද විය. නමුත් තමන් ඒ වන විටත් අභිසම්බුද්ධත්වයට පත්නොවූ, අනභිසම්බුද්ධ වූ බෝධිසත්තස්ස පමණක් වූ බව බුද්ධත්වයට පත් වූ පසුව බුදුපියාණන් වහන්සේම ප්‍රකාශ කර ඇත. (භය භේරව සූත්‍රය) ධ්‍යානයන් ලැබීම, අභිඥා ලැබීම, චේතෝ විමුක්තියට පත්වීම, සමාධි ලැබීම මෙන්ම ඉර්ධිප්‍රාතිහාර්යයන් පෑම ගෞතම බුදුපියාණන් බුද්ධත්වයට පත්වන්නට පෙරත් ජීවත් වූ මිනිසුන් අතරේ ප්‍රායෝගිකවම පිළිගත්, භාවිතයේ පැවතුන දේවල්ය. නමුත් කෙලෙස් (බව) උදුරා දමා බුද්ධත්වයටපත්වීමේ ක්‍රමයක් ඒ කිසි අභිඥාලාභියෙකු දැන නොසිටියහ. මේ අනුව රාග, ද්වේෂ ගතිදෙක තාවකාලිකව යටපත් කරගෙන ලෞකික වශයෙන් යම්කිසි ලෞකික සුවයක් ලබාගන්නා ක්‍රම වේදයක් පෙර පටන්ම ලෝකයා භාවිතා කළහ. දැන සිටියහ. එය තාවකාලික සුවයකි. මීට පෙර බුද්ධ සාසනයන් පැවති යුගයන්හිදී ද මිනිසුන් රාග බව, ද්වේෂ බව, මෝහ බව සහමුලින්ම උදුරා අස්කර දමා බුද්ධත්වයට පත්ව සිටිබව සමහර මිනිසුන් අසා දැන සිටියහ. නමුත් ඒ සඳහා අනුගමනය කළයුතු නියම නිවැරදි මාර්ග ප්‍රතිපදාව භාවිතයෙන් ඉවත්ව ධ්‍යාන ලැබීමේ අභිඥා ලැබීමේ ක්‍රමයක් පමණක් භාවිතයේ පැවතුනි. ගෞතම ශ්‍රමණයන් වහන්සේ සොයා දැන ලෝකයාට දේශනාකර වදාලේ භව උදුරා දමා නිදහස් වන ක්‍රමවේදයයි.

පෙර බුද්ධ සාසනයන්හි මෙන්ම මේ ගෞතම බුද්ධ සාසනය ද යම් සීමිත වූ කාල පරාශයක් තුළ පමණක් භාවිතයේ පැවතී ක්‍රමයෙන් ධර්මය අභාවිතයට ගොස් බුද්ධ බවට, අරහත් බුද්ධ බවට පත්වීමේ නිවැරදි ක්‍රමවේදය ද මිනිසුන් අතරින් අභාවයටම පත් වන්නේමය. නමුත් මේ පදවැල් පදපරම ලෙස භාවිතයේ පවතින්නේය.

අනුරාධපුර යුගයේ අගභාගයේ මෙන්ම පොලොන්නරු යුගයේ දී ද තාවකාලිකව අභාවයට ගිය බුද්ධ සාසනය දේව ආගම්

සංකල්ප වලට යටවී සහමුලින්ම බුද්ධ ධර්මය යටපත් වී ආගමක් පමණක් බවට පත්වීම පැහැදිලිව පෙන්වා දිය හැකිය. මෙසේ තාවකාලිකව යටපත්ව තිබූ බුද්ධ සාසනය එනම් බුද්ධ තත්වයට පත්වීමේ නිවැරදි ප්‍රතිපත්ති මාර්ගය, යලි මතු කර භාවිතයට ගන්නේ ද තවත් මිනිසෙකු විසින්මය. දෙවියෙකුට, බ්‍රහ්මයෙකුට හෝ වෙනත් අමනුස්සයෙකුට හෝ සත්වයෙකුට හෝ බුද්ධ සාසනයක් මතු කරමින් අවශේෂ ලෝකයාටත් බුද්ධ තත්වයට පත්වීමේ නිවැරදි මාර්ගය මතුකර පෙන්වාදීමේ හැකියාවක් හෝ ශක්තියක් ලැබෙන්නේ ද නැත.

## 4. බුද්ධං, ධම්මං, සංඝං

1. ''ගච්ඡාමි සරණං බුද්ධං
   ගච්ඡාමි සරණං ධම්මං
   ගච්ඡාමි සරණං සංඝං''

2. ''නත්ථි මේ සරණං අඤ්ඤං බුද්ධෝ මේ සරණං වරං,
   නත්ථි මේ සරණං අඤ්ඤං ධම්මෝ මේ සරණං වරං,
   නත්ථි මේ සරණං අඤ්ඤං සංඝෝ මේ සරණං වරං,''

මාගධී භාෂාවෙන් දේසනා කරන ලද මේ ප්‍රකාශණ දෙකම බුද්ධ ශක්තිය යනු කුමක්දැයි තේරුම් ගන්නට උපකාර වන පරිදි අර්ථ විග්‍රහ කර තේරුම් ගත යුතුය. මේ ප්‍රකාශණ දෙකෙහිම පෙන්වා මතුකර දුන් බුද්ධ, ධම්ම, සංඝ යන ත්‍රිවිධාකාර රත්නයන්ම උපකාර කරගත යුතු වන්නේ සසර සැරිසැරීම නවතා දැමීමටය. සසර බැමි උදුරා ගලවා ඉවත් කර දැමීමම මෙහි අවධාරණයෙන් ප්‍රකාශ කර ඇත. චර, සර, සැරි සර, ආදි පදවලින් මාගධී භාෂාවේ පෙන්වුයේ සංසාර ගමන සාරවත් එකක් සේ දැක දිගින් දිගටම සසර පැවැත්ම පවත්වාගෙන යන්නට උපකාර වන ක්‍රියාකාරකම් කිරීමේ ප්‍රතිඵලයක් ලෙස උරුම වන ගමන් කිරීමයි. බුද්ධ, ධම්ම, සංඝ යන ත්‍රිවිධ රත්නයම මිනිසෙකු විසින් උපකාර කරගත යුතු වන්නේ ජීවිත

පැවැත්ම තුළ යලි යලිත් උපත ලබන කෙලෙස් ගති (පුනබ්භවොති) උපද්දවීම නවතා දමන්නටය. කෙලෙස් ගති සහමුලින්ම උදුරා ඉවත් කර දමා දුක් සහගත පැවැත්ම අවසන් කරන්නටය. සමුදය තේරුම් ගෙන නිරෝධය ක්‍ෂාත් ක්‍ෂාත් කර ගන්නටය. එනම් චතුරාර්ය සත්‍යයන්ම අවබෝධකර ගන්නටය.

කාමාවචර, රූපාවචර, අරූපාවචර යන තුන්ලෝකය තුළම පවතින්නේ ''චර'' බවකි. ගමන් කිරීමේ ස්වභාවයකි. 'චර' බව යනු නොනවත්වාම යන ගමනක යෙදෙන ස්වභාවයකි. මේ නොනවත්වාම යන ගමන යන්නට (රිය ගමනට) - යම් ශක්ති ප්‍රභවයක් අවශ්‍ය වෙයි. 'සං' සාරයි කියා දකින තුරාවටම මේ ශක්තිය බිහිවෙයි. සංසාර ගමන යාමේදී දුක නිර්මාණය කර දෙයි. දුකෙන් සදහටම මිදී නිදහස් වන්නට නම් යලි යලිත් උපත් ලබ ලබා මැරි මැරී යන සංසාර ගමන (චර බව) 'චරණ' බවට පත්කර, ගමන අවසන් කළ යුතුය. 'චර' යනු ගමන් කිරීමයි. 'චරණ' යනු ගමන නැවැත්වීමයි. මේ අනුවම 'සර' යනු ගමන් කිරීමයි. 'සරණං' යනු ගමන් කිරීම නැවැත්වීමට අවශ්‍ය ක්‍රියාකාරකම් කිරීමයි. මේ නිවැරදි ක්‍රියාකාරකම් කිරීමෙන් භව උදුරා දැමිය යුතුය. භව උදුරා (බුද්ධ) අස්කර දැමීම මගින් 'චරණ' බවට පත්වීම ද සිදුවෙයි. මේ සඳහා අවශ්‍ය මාර්ග ප්‍රතිපදාව සොයා දැන මග අනුගමනය කිරීම 'ගච්ඡාමි' යන පදයෙන් පැහැදිලි කරයි. මේ අනුව ''ගච්ඡාමි සරණං බුද්ධං'' යැයි බුද්ධ දේසනාවේ ප්‍රකාශ කල දේ පරමාර්ථ ධර්මයක් ලෙස දැක ගත් විට ''සසර සැරිසැරීම නවතා දැමීමට භව උදුරා ඉවත් කරන මග අනුගමනය කළ යුතුය'' යන්න අවබෝධ වේවි.

'සං' සාරයි කියා, සාරවත් සේ මෙතෙක් කලක් දුටුවේ, සම්බන්ධතා ඇති කරගත්තේ, රාග බව ද්වේෂ බව, මෝහ බව ක්‍රියාත්මක වීමේ ප්‍රතිඵලයක් හැටියටයි. මේ ගතිවල නිස්සාරත්වය, අසාරත්වය රිසි සේ, මනාප සේ පවත්වන්නට , නවත්වන්නට නොහැකි බව යථාපරිදි දැකගත් පසුව ඒ ගති තුනම යලි යලිත් බිහිකිරීම නවතා දමා ''විජ්ජා චරණ සංපන්න'' තත්ත්වයට පත්වීමම

ගච්චාමි සරණං බුද්ධං යන පදවලින් ද ගම්‍ය වෙයි. ''චර'' බව පවතින්නේ ''භව'' උදුරා දමන තෙක් පමණි. භව උදුරා දැමූ උත්තමයා චර බව නවතා දමා ''චරණ'' තත්වයට පත්වූවෙකි.

මේ ආකාරයෙන්ම හේතුඵල ධර්මයට බහා ගලපා බලා, විනයට සසඳා බලා ''චර'' (අනරිය) තත්ත්වයට හේතු පාදක වූ හේතුඵල පරම්පරාවෙන් ද මිදී නිදහස් වීම ''ගච්ඡාමි සරණං ධම්මං'' යන්නෙහි අර්ථයයි. මෙතැන ධම්මං යනු හේතුඵල ධර්මය - පටිච්ච සමුප්පාද ධර්මයම දැනගෙන අනුගමනය කිරීමයි. පටිච්ච සමුප්පාද ධර්මය යථාපරිදි පසක් කොට දැකගත් කෙනෙකුට මිස, නිවන් අවබෝධ කරගන්නට උපකාරවන, සමුදය නිරෝධ කරන්නට උපකාර වන, උතුම් බුද්ධ ධර්මය දැකගත් කෙනෙකුයැයි පැවසිය නොහැකිය. බුද්ධ ධර්මය පෙන්වා වදාල මාර්ගය අනුගමනය කිරීම තුළින් රාග බව, ද්වේෂ බව මෝහ බව උදුරා දමා නිදහස් වන්නට හැකි ශක්තියක් ලැබෙන්නේ අවිද්‍යා මූල පටිච්ච සමුප්පාද ක්‍රියාවලියෙහි ආදීනව ආනිසංස දැක කුසලමූල පටිච්චසමුප්පාද ක්‍රියාවලියෙන් කෙලෙස් මුල් උදුරා දැමීමෙනි. මේ නිසා ධර්මය උපකාර වන්නේ ද ''චර'' බව අවසන් කර ''චරණ'' තත්වයට පත්වීමටය.

ඒවාගේම ''ගච්ඡාමි සරණං 'සංඝං' යන්නෙහි ධර්ම අර්ථය වන්නේ, 'සං' දැක, ධම්මෝ සංදිට්ඨිකෝ යන තත්ත්වය තේරුම්ගෙන සංවලින් මිදී නිදහස්වන්නට 'සං' ගසා බිඳ හැර නිදහස් විය යුතුය යන්නයි. මේ අනුව 'සංඝ' යන පදය 'සං' (රාග, ද්වේෂ, මෝහ) ගසා බිඳ හැර දැමූ යන තේරුම ඇති පදයකි. සම්මා දිට්ඨියට පත්වීම සිදුවන්නේ ද සමුච්චේද ප්‍රහාණයෙන් 'සං උදුරා' දැමීමෙනි. සංඝ යන පදයෙහි යොදාගත් 'ඝ' (ඝංඨාර) ගයන්නෙන් අදහස් කරන්නේ යමක් ගහල බිඳල කපා දමා සිඳ දැමීම යන්නයි. සාමාන්‍ය භාවිතයේ එන 'ග යන්න භාවිතා කරන්නේ යමකට ගෑවීම හාවීම යන අර්ථය විග්‍රහ කරන්නටයි. සංගණිකා දෝෂය යනු සාරවත් දේ එකතුකර ඊටම හාවී සිටීම ගැවී සිටීම යන අර්ථයයි. ඇලීමේ, ගැටීමේ, උපාදානය

කරගැනීමේ දෝෂය සංගණිකා දෝෂයයි.

''නත්ථි මේ සරණං අඤ්ඤං බුද්ධෝ මේ සරණං වරං, ධම්මෝ මේ සරණං වරං, සංඝෝ මේ සරණං වරං'' ආදි වශයෙන් එන මාගධී පදවලින් ප්‍රකාශවන ධර්ම අර්ථය මේ අනුසාරයෙන්ම තේරුම් ගත යුතුය. 'සරණං' යනු (චරණ) චර බව නැවැත්වීම සසර සැරි සර බව නැවැත්වීම යන අර්ථයෙනි.

1. භව උදුරා දැමීම මගින් 'චර' බව අවසන් කළහැකිය. ඒ රාග භව, ද්වේෂ බව හා මෝහ බව උදුරා ඉවත් කර දැමීමයි. "බුද්ධෝ" යනු භව උදුරා දැමූ යන්නයි. බුද්ධං යනු භව උදුරා දැමීමේ ක්‍රියාවලියේ නිරත වීමයි.
2. හේතුපල ධර්මයට බහා ගලපා බලා විනයට සසඳා බලා කුණු සලා හැරීම මගින් චර බව අවසන් කරමින් චරණ තත්ත්වයට පත්විය හැකිය. ඒ ධම්මෝ මේ සරණං යන්නයි.
3. සංවර වී සංසිඳුවා සම්මා තත්ත්වයට පත්වීම 'සංඝෝ' යන තත්ත්වයට පත්වීමයි. ඒ සංඝං සරණං යන්නයි.

නමුත් අද වනවිට බුද්ධ භාෂිතයේ එන මෙම පදවැල් වලට පදපරම අර්ථ විග්‍රහයක් ඉදිරිපත් කරමින් සම්මත පිළිගැනීමක් හැටියට ප්‍රකාශ කරන්නේ,

''බුදුන්ගේ සරණ මිස මට වෙනත් සරණක් නැත.
ධර්මයේ සරණ මිස මට වෙනත් සරණක් නැත.
සංඝ සරණ මිස මට වෙනත් සරණක් නැත.'' යනුවෙනි.

බුද්ධ දේශණාවේ පැහැදිලිවම ප්‍රකාශ කලේ ''අත්ථාහි අත්ත නො නාථෝ - කොහි නාථෝ පරාසියා'' යනුවෙනි. එසේ නම් එදා බුද්ධත්වයට පත්වූ එදා පිරිනිවන් පා වදාල බුදුපියාණන් වහන්සේ හෝ පිරිනිවන්පා වදාල මහා සංඝරත්නය හෝ අපට කුමන ආකාරයකින් අද පිහිටවන්නද? මේ කළ නොහැකි දෙයකි. තම

තමන්ගේම සිත් තුළ බඹයක් පමණ වූ මේ ශරීරකූඩුව තුළම පවතින තුන්ලෝකයම දැක මේ තුන් ලෝකයෙන්ම මිදී නිදහස් වන්නට නම් ''භව'' උදුරා දැමිය යුතුය. හේතුඵල දහමට බහා ගලපා බලා විනයට සසඳා බලා ක්‍රියා කළයුතුය. ''සංඝ'' තත්ත්වයට පත්විය යුතුය. එසේ කළ හැකි වන්නේ 'සං' දැකගැනීමෙන්මය. සසර සැරිසර ස්වභාවය නවතා දමන්නට නම් අත්‍යවශ්‍යයෙන්ම භව නිරෝධ කළයුතුය. එනම් රාග බව, ද්වේෂ බව, මෝහ භව සිතින් උදුරා දමා බුද්ධ බවට පත්විය යුතුය.

සරණ, පිළිසරණ යන සිංහල භාෂා ව්‍යවහාරයේ භාවිතයේ එන පදයේ අර්ථය පිහිටක් උපකාරයක් වැනි බාහිරයෙන් ඉල්ලා, යැද ලබාගත හැකි තත්ත්වයකි. නමුත් සරණං (චරණ) යන මාගධී පදයේ මෙවන් බාහිර පුද්ගලයෙකුගේ, දෙවියෙකුගේ හෝ බලවේගයක හෝ උදව්වක්, උපකාරයක්, පිහිටක් ලබාගැනීමක් මෙතැන අදහස් නොවේ. මින් අදහස්වන්නේ 'චර' බව 'අනරිය' බව නැතිකර ගැනීම යන අර්ථයයි. තමා තුළම ගබඩා වී පවතින කෙලෙස් ගති, යලි උපදින කෙලෙස් බව වෙනත් කාටවත්ම අස්කර ඉවත්කර ගලවා උදුරා දමන්නට නොහැකිය. මේ ධර්මතාවය නිසාම බුදුවරයින් වහන්සේලා මග පෙන්වන්නන් සහ මග කියාදෙන්නන් පමණක් බව බුද්ධ දේසනාවේ පැහැදිලිවම පෙන්වාදී ඇත. මේ පෙන්වා වදාල නිවැරදි මාර්ගය අසා දැන, සොයාගෙන, ඒ නිවැරදි මග අනුගමනය කිරීමෙන්ම තවත් බාහිර කෙනෙකුට ද නිවන් මගට පිවිසිය හැකිවෙයි.

චතුරාර්ය සත්‍යයන්, පටිච්චසමුප්පාද ධර්මය, සීල සමාධි පඤ්ඤා යන ත්‍රිශික්ඛා, ද්වතාවය, තිපරිවට්ටය, සං දේසනාව, සත්තිස්බෝධිපාක්ෂික ධර්ම යන මේවා හැම කාලයටම සාධාරණ හැම කල්හිම පවතින ධර්මයෝය. මෙවැනි උතුම් ධර්ම කරුණු කාරනා මිනිසෙකු විසින්ම සොයා මතුකර දේශණාකරන අතර, තවත් මිනිසුන් විසින් වැරදියට අර්ථ විග්‍රහ කරමින් ධර්මය විකෘති කර කාලයෙන් කාලයට වැරදි දේ භාවිතයට හුරු කරමින් ධර්ම අර්ථය අභාවයට පත් කරන්නේය. මේ සියල්ලම මනසක් ඇති මිනිසුන් කරන

හොඳ නරක චේතනාවන් හා දැනීම නොදැනීම යන විවිධත්වය නිසාම කරන දේවල්ය. මේ අනුව නියම කාලයට උතුම් බුද්ධ ධර්මය ද මතු වී, නිවන් අවබෝධ කරගන්නට හැකි ආකාරයට අර්ථ, ධර්ම, නිරුක්ති, පටිසම්භාදාඅර්ථ විග්‍රහ කර නිවන් මග විවෘත කර දෙන්නේ ද මිනිසෙකු විසින්මය. ''භව'' උදුරා දැමීමට (රාග බව, ද්වේෂ බව, මෝහ බව) සසර දුකෙන් සදහටම මිදී නිදහස් වන්නට අනරිය බවෙන් මිදී නිදහස් වන්නට ''සරණං'' යනුවෙන් පෙන්වා වදාල ''චර'' බවෙන් සහමුලින්ම මිදී නිදහස්වන්නට අත්‍යාවශ්‍යයෙන්ම අනුගමනය කළයුතු ක්‍රමවේදය වන්නේ බුද්ධං සරණං, ධම්මං සරණං, සංඝං සරණං ගතෝ (ගච්චාමි) වීමයි. (ජීවක සූත්‍රය)

මිනිසෙකුව උපතලත් හැම කෙනෙකුටම උපතින්ම මනසක් උරුම වී ඇත. මේ මනසේ ශක්තිය පිරිසිදු කරගෙන මනස පහදා උපද්දවා ගත යුතුය. (උදපාදි) එවිට ප්‍රඥාව මතුවෙයි. පඤ්ඤා උදපාදි තත්ත්වයට පත් වූ මිනිසාට කෙලෙස් සහමුලින්ම ගලවා උදුරා ඉවත්කර දැමීමේ ශක්තියක් ද ලැබෙයි. මෙයම මනුස්සකමයි.

දේව ආගම් සංකල්ප සියල්ලම හැමවිටම මිනිසෙකු සතුව පවතින අධ්‍යාත්මික ශක්තිය යටපත් කරමින් භක්තියෙන් ආගම් අදහන්නෙකු බවට මිනිසාව පත්කරවයි. ශිව ආගම, වේද ආගම මෙන්ම බටහිර රටවල පවතින බොහෝ දේව ආගම්වල ද ඇත්තේ ඇදහිල්ල මුල්කරගත් භක්තියෙන් පිළිගත් යාඥා කිරීමෙන් දෙවියන්ගෙන් පිළිසරණක්, දේව පිහිටක් යැදීමේ වැරදි සංකල්පයකි. අද වන විට බුද්ධාගමට ද පෙරදිග ආගම් වල පිළිගත් බොහෝ ආගම් සංකල්ප යාඥා ක්‍රම ක්‍රමානුකූලව ඇතුලත් වී උතුම් බුද්ධ ධර්මයේ පෙන්වා වදාල නිවන් මාර්ගය යටපත්ව ගොස් ඇත. අධ්‍යාත්මිකවූත් මානසික වූත් මනසේ ශක්තිය - ප්‍රඥාව - යටපත්ව භක්තිය මතුවීම නිසා අද ප්‍රායෝගික වශයෙන්ම බුද්ධාගම ද තවත් එක ආගමක් බවට පත්වී ඇත. එදා බුදුපියාණන් වහන්සේ සොයා මතුකර පෙන්වා වදාල උතුම් බුද්ධ ධර්ම මාර්ගය - භව උදුරා දැමීම - යටපත්ව ඒ වෙනුවට - භව සකස්කිරීමේ - ආමිස පිළිවෙත් වලට

මුල්තැන දී ක්‍රියාකිරීමේ - ක්‍රමවේදයක් අද ප්‍රචලිතව බුද්ධාගමේද භාවිතා කරන බව කණගාටුවෙන් නමුත් පෙන්වා දිය යුතුමය.

පිළිවෙතින් පෙළ ගැසිය යුත්තේ, පිළිවෙත් පිරිය යුතුවන්නේ බඹයක් පමණ වූ ශරීර කූඩුව තුළ නොනවත්වාම උපත ලබන ''භව'' උදුරා ඉවත් කර අස්කර දමා ''භව'' නිරෝධ කිරීමෙන් ජාති නිරෝධ කර සංසාර දුකෙන් සදහටම මිදී නිදහස් වීම සඳහාය.

## 5. බොජඣඞග - බොජ්ජංග - බෝධි අංග - යනු කුමක්ද ?

නිවන් අවබෝධ කර ගැනීමේදී අනිවාර්යෙන්ම සම්පූර්ණ කරගත යුතු සත්තිස් බෝධිපාක්ෂික ධර්මයන් අතරින් සත්ත බොජ්ජංග ධර්මයන් ඉතාමත්ම වැදගත් දෙයකි. බොජ්ජංග - බෝධි අංග බුද්ධ අංග - යන පදවලින් විග්‍රහකර පෙන්වූ පදයන්හි ධර්ම අර්ථය නිවැරදිව තේරුම් ගැනීමත්, ප්‍රායෝගික වශයෙන්ම මෙහිදි කරගත යුතු කෙලෙස් ප්‍රහාණයට උපකාර වන කරණීය ධර්මයනුත් තේරුම් ගත් කෙනෙකුට පමණක්ම මගඵල අධිගමයට උපකාර වන සේ නිවන් මග සම්පූර්ණ කරගත හැකිවෙයි.

මේ නිසා ත්‍රිපිටකයේ - පටිසම්භිදා මග්ගප්පකරණයේදී- බෝජ්ජංග විග්‍රහය පැහැදිලිකර දුන් ආකාරය කෙරෙහි අවධානය යොමුකල යුතුය.

''බොජඣඞගාති කේනට්ඨේන බොජඣඞගා''

(කිනම් ධර්ම අර්ථයකින් බොජ්ජංග යන පදය විග්‍රහ කෙරේද ?)

1. බෝධාය සංවත්තන්තීති බොජඣඞගා
2. බුජ්ඣන්තීති බොජඣඞගා
3. අනුබුජ්ඣන්තීති බොජඣඞගා
4. පටිබුජ්ඣන්තීති බොජඣඞගා
5. සම්බුජ්ඣන්තීති බොජ්ඣඞගා

මේ පස් (5) ආකාරයෙන් බොජ්ජංගයන් වැඩීම යන්න මෙහිදී අර්ථ ගන්වා ඇත. මෙසේ පටිසම්භිදාමග්ග ප්‍රකාරණයේදී කළ

විග්‍රහය සිංහලයට ත්‍රිපිටකය පරිවර්තනය කළ අය මේ සඳහා භාවිතා කළ (විග්‍රහ කළ) සිංහල පදයන් ද තේරුම් ගැනීම කළ යුතුය.

1. අවබෝධය පිණිස පවතිත්නුයි.
2. අවබෝධ කෙරෙත්නුයි.
3. අනුබෝධ කෙරෙත්නුයි.
4. ප්‍රතිබෝධ කෙරෙත්නුයි.
5. මොනවට අවබෝධ කරණුයි.බොජ්ජංග නම්වේ.

මෙහිදී බොජ්ජංග (බෝධි අංග) යනු අවබෝධ කිරීම, අවබෝධ කරගැනීම, යන සිංහල භාෂාවේ එන පදය භාවිත කර විග්‍රහ කරදී ඇත. ''බොජ්ඣඞග'' බෝධි අංග යන පදයෙහි අවබෝධය, අවබෝධ කරගැනීම යනාදී අර්ථයක් කිසිසේත්ම ගැබ් වී නැත. බොජ්ජංග යනු බුද්ධ අංග බෝධි අංග පූර්ණ කරගැනීම යන අර්ථයයි. භව උදුරා දැමීම යන්න බෝධි අංග නම්වෙයි.

මේ ජීවිත පැවැත්ම යලි යලිත් නිර්මාණය කර මතු මතුත් ''පුනබ්බවෝති'' තත්ත්වයට පත් කරවන්නේම භව (සංභව, සංභූතං) සකස් කර ගැනීම හේතුකොට ගෙනයි. භව යනු රාග බව, ද්වේෂ බව, මෝහ බව යන දෛනිකව අලුතින් නිර්මාණය කරගන්නා කෙලෙස් සහගත (අනුසය) ධර්මයෝය. මෙසේ ජීවිත පැවැත්ම දිගටම පවත්වාගෙන යන්නට උපකාර වන, අලුතින් නිර්මාණය කර ගන්නා මේ කෙලෙස් ගති (භව) අලුතින් නොඋපදවා වර්තමාන මොහොත සහමුලින්ම ඒවායින් මිදී නිදහස් වීම කළ හැක්කේ - භව උදුරා දැමීමෙනි. මේ ආකාරයට භව උදුරා දැමීම යන අර්ථයෙන් බොජ්ඣඞග නම් විය.

1. භව උදුරා දැමීම පිණිස ක්‍රියාකිරීම. (සංවත්තන්ති)
2. භව උදුරා දැමීම ප්‍රායෝගිකව දිගටම කරගෙන යාම.
3. අලුතින් උපත ලබන (අනුසය) භව උදුරා දැමීම.
4. භව උදුරා දැමීම නිසා බැමි (සසර බැමි) කැපීම.
5. යලි මතුවට භව නොඉපදවීම. (බැමි සකස් නොකිරීම)

''රාග අනුසයං න අනුසේති
පටිඝ අනුසයං න අනුසේති

අවිජ්ජා අනුසයං න අනුසේති''

යන අර්ථයෙන් බොජ්ජංග විය. බුද්ධ අංග නම් විය. සත්ත බොජ්ජංග ලෙස ධර්මයේ පෙන්වා දෙනු ලබන,

1. සති සංබොජ්ජංග
2. ධම්ම විචය සම්බොජ්ජංග
3. විරිය සම්බොජ්ජංග
4. පීති සම්බොජ්ජංග
5. පස්සදි සම්බොජ්ජංග
6. සමාධි සම්බොජ්ජංග
7. උපේක්ඛා සංබොජ්ජංග

යනුවෙන් අංග හතකි. මේ අංග හතම සම්පූර්ණ කර ගැනීමෙන් රාග බව, ද්වේෂ බව, මෝහ බව සහමුලින්ම උදුරා ඉවත් කර දැමීම කළ හැකිය. එය කෙලෙස් යලි නොඋදවන්නටමත් හේතු වෙයි.

මෙසේ රාග බව, ද්වේෂ බව, මෝහ බව උදුරා දමන්නට උපකාර වන ප්‍රතිපදාවක් නිසාම බොජ්ජංග නමින් නම් කළ බව ඉතාම පැහැදිලිය. මේ බව පටිසම්භිදා මග්ගප්‍රකරණ විග්‍රහයේ තව දුරටත් විග්‍රහ වෙයි.

1. පච්චයටෙඨන බොජ්ජංගා (කර්ම හේතු උදුරා දමන්නට උපස්ථම්භක වන බැවින් බොජ්ජංග නම්වේ.
2. විශුද්ධටෙඨන බොජ්ජංගා (සප්ත විශුද්ධිය පරිපූර්ණ වන්නට උපකාර වන නිසා බොජ්ජංග විය.)
3. අනවජ්ජටෙඨන බොජ්ජංග (වැරදි දේ, කෙලෙස් ගති, ඉවත් කර දමන්නට උපකාරවන නිසා බොජ්ජංග විය.
4. නෙක්ඛම්මටෙඨන බොජ්ජංගා (කය රමනය කිරීමේ ක්‍රියාවලියෙන් නිදහස්වන හෙයින් බොජ්ජංග නම් විය.
5. විමුක්තටෙඨන බොජ්ජංගා - කෙලෙස් වෙන්කර කලෙස්වලින් මිදී නිදහස් වන අර්ථයෙන් බොජ්ජංග

විය.

6. අනාසවටෙඨ්න බොජ්ජංගා (ආසය අනුසය නැතිකරන, ප්‍රහාණය කරන, නොඋපදවන අර්ථයෙන් බොජ්ජංග නම් විය.
7. විවේකටේඨන බොජ්ජංගා (කාය (ක්‍රියාව) වේදනාවන්ගෙන් වෙන්වන ස්වභාවයක් ඇතිවන නිසා බොජ්ජංග නම් විය.
8. වොස්සග්ගටේඨන බොජ්ජංගා (උපාදානය කරගත් සියලු උපධීන් මුලින් ගලවා නැවත නොඋපදින ලෙස හැරපීම් කරන අර්ථයෙන් බොජ්ජංග නම් විය.

මේ හැම අවස්ථාවකදීම විග්‍රහ කර පෙන්වුයේ රාග, ද්වේෂ, මෝහ බව (යලි යලිත් මේ ගති අලුතින් සිතක උපත ලැබීම.)නවතා දමන්නට උපකාර වන අර්ථයෙන් මේ සියලු ක්‍රියාකාරකම් කිරීම බොජ්ජංග නම් වූ බවයි. බොජ්ජංග, බුද්ධ අංග, බෝධි අංග යන මේ පදවලින් අර්ථ ගැන්වුයේ භව උදුරා දමන්නට උපකාර වන දේ යන අර්ථයෙනි.

ත්‍රිපිටකය සිංහලයට පරිවර්තනය කිරීමේදී මෙම පදය (බොජ්ඣඞග, බෝධිඅංග) අවබෝධය යන පදයෙන් වැරදි ලෙස අර්ථ ගැන්වීමකි. ඒ සහමුලින්ම උතුම් බුද්ධ ධර්මය විකෘති කිරීමකි. අවබෝධය යන්න පෘතග්ජන පුද්ගලයෙකු තුළ පවතින බාහිර ලෝකය පිළිබඳව ඇති දැනුම විග්‍රහ කරන පදයකි. ලෝකය යනු රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් අඳුරු වූ පැවැත්මයි. අවබෝධය උපකාර වන්නේ ලෝකය (අඳුර) සකස් කරගන්නටය. ලෝකෙන් මිදී ලෝකෝත්තර තත්ත්වයට පත්වන්නට නම් පූර්ණ සත්‍යාවබෝධයම ලබාගත යුතුය. එය ආර්ය තත්ත්වයට බුද්ධ තත්ත්වයට පත්වීමයි. බොජ්ජංග සම්පූර්ණ කරගැනීමේ විග්‍රහයේදී පෙන්වාදෙන සියලුම පියවරයන් උපකාරවන්නේ භව උදුරා දමා දුක් සහිත පැවැත්ම අපවැත්මක් බවට පත්කර ගන්නටය.

බොහෝ අරහතුන් වහන්සේලාට මෙන්ම ගෞතම බුදුපියාණන් වහන්සේටත් යම් යම් කායික අබාධයන් ඇති වූ අවස්ථාවලදී බොජ්ජංග පිරිත් සජ්ජායනා කළ බව බෞද්ධ ඉතිහාසයේ විවිධ තැන්වලදී සඳහන් කර ඇත. මෙසේ බොජ්ජංග පිරිත සජ්ජායනා කරමින් අරහත් ඵලයට පත් වූ උත්තමයින්ටත් යළි මෙය සිහිපත් කළේ මේ ශරීරයට ඇතිවන්නා වූ සියලු ආබාධයන්ට වේදනාවන්ට හේතුව රාග බව, ද්වේෂ බව, මෝහ බව මුල් කොට ගෙනම අතීතයේදී සකස් කරගත් තම ශරීර කූඩුව අනිච්ච නිසා අනත්ථ නිසා මෙසේ දුක උරුම වන බව සිහිපත් කර ඒ දුකෙන් මිදී නිදහස් වන්නට බොජ්ජංග නැවත සිහිපත් කරන්නට උපකාර වන ආකාරයටයි. මතු සංසාර දුකෙන් සදහටම මිදී නිදහස් වූ - නිස්සරණ ප්‍රහාණයෙන්ම කෙලෙස් උදුරා දැමූ අරහතුන් වහන්සේටත්, මේ ජාතියේදී උපත ලබන අවස්ථාවේදී උරුමකර ගත් ශරීර කූඩුව - කරජ කය - තවදුරටත් ලෙඩ රෝග වලට ආබාධවලට හේතු භූත වන බවත්, එය පවත්වාගෙන යනතුරාවට වැය කර ගෙවා දමන්නට තව තවත් යම් යම් පෙර කරන ලද පුන්‍ය, පාප කර්ම ශක්තීන් ඉතිරි වී පවතින බවත් පෙන්වා දෙන්නටය. භව උදුරා දැමූ වීතරාගී, වීත ද්වේශී, වීතමෝහී අරහතුන් වහන්සේට ද ශරීර කූඩුවට වේදනා ඇතිවෙයි. එම කායික වේදනාවන් උපේක්ඛා සිතින් ඉවසා විමසා සැනසෙන්නට උපකාර වනසේ තමන් ලබාගත් බුද්ධ බලයන් ඉස්මතු කරන්නටම බොජ්ජංග පිරිත් සජ්ජායනා කළ බව ඉතාමත්ම පැහැදිලිය.

මේ විග්‍රහයන් සියල්ලෙන්ම පෙන්වා දෙන්නට උත්සාහ ගත්තේ බුද්ධ, බුද්ධං, බෝධි, බුද්ධෝ ආදී වශයෙන් අප නිතර නිතර භාවිතා කරන මෙම මාගධී වචන වලින් විග්‍රහ කරන ලද පරමාර්ථ ධර්මයම මතුකර පෙන්වා දෙන්නටය. බුද්ධ, බුද්ධෝ, බෝධි ආදී පදයන් එක චරිතයකට එක පුද්ගලයෙකුට හෝ එක උත්තමයෙකුට හෝ අයත් ඒවා නොවේ. භව උදුරා දමන්නට සමත් වූ රාග බව, ද්වේෂ බව, මෝහ බව තම සිතෙන් සහමුලින්ම උදුරා යලිත් එවැනි

සිතුවිලි නොඋපදවන්නටම සමත් වූ උත්තමයා බුද්ධ නම් වේ. සම්බුද්ධ වේ. සම්මා සම්බුද්ධ වේ. අභි සම්බුද්ධවේ. මේ සියලු නම් යම්කිසි එක්තරා චරිතයකට ආරෝපනය කර පුද්ගලයෙකුගේ චරිතයක් ගොඩ නගන්නට, ඉස්මතු කර පෙන්වන්නට, පසු කාලීනව සාහිත්‍යකරුවන්, ඉතිහාසය ලියූ කතුවරුන් උත්සාහ ගැනීම නිසා අද වන විට බුද්ධ, සම්බුද්ධ, අභිසම්බුද්ධ සම්මා සම්බුද්ධ යනාදී පදවල එන උතුම් ධර්ම අර්ථය යටපත්වන තත්ත්වයටම මේ පදවැල් ව්‍යවහාර භාෂාවලදී සම්මත ලෙසින් භාවිතා කරන බව පෙන්වා දිය යුතුය.

රාග බව, ද්වේෂ බව, මෝහ බව යලි යලිත් සිතේ නොඋපදින ආකාරයටම (අනුප්පාද නිරෝධය) භව උදුරා දැමූ සියලුම උත්තමයින් වහන්සේලා බුද්ධත්වයට පත් වූ උතුමන්ම වන්නේමය. එය මිනිසත් බව තේරුම් ගෙන, යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකර, ධම්මානු ධම්ම පටිපදාවෙහි හැසිරීමෙන් ඕනෑම මිනිසෙකුට මගඵල ක්ෂාත් ක්ෂාත් කරගත හැකි බව පෙන්වා වදාල උතුම් බුද්ධ ධර්මය තේරුම් ගැනීමයි.

බුද්ධ ගුණ, බුද්ධ ඤාණ, බුද්ධ බල, බුද්ධ ශක්ති බුද්ධ ධර්මය යනාදි පද සියල්ලෙන්ම විග්‍රහ කරන්නේ, විග්‍රහ කර පෙන්වන්නේ රාග බව, ද්වේෂ බව, මෝහ බව උදුරා සිතින් අස්කර දමන්නට උපකාර වන අංගයන් හැටියටත්, එසේ භව උදුරා දැමු උත්තමයින් සියලු දෙනා තුළ පවතින ශක්තීන් හැකියාවන් හැටියටත්ය.

ලොව්තුරා සම්මා සම්බුදු පියාණන් වහන්සේලා මේ අතරින් අග්‍රගන්‍ය වන්නේ මෙවන් උතුම් බුද්ධ ධර්මයක් භාවිතයේ නොපැවති යුගයක, තමන්ගේම ශක්තියෙන් ස්වයංභූ ඤාණයෙන්ම, ගුරු උපදේශ රහිතවම සියලු ආකාරයෙන්ම අංග සම්පූර්ණ මේ උතුම් ප්‍රතිපදාව සොයා දැන, ඒ ප්‍රතිපදාව අනුගමනය කරමින් ලොව්තුරා බුද්ධ බවට පත්වීම නිසාත්, අවශේෂ ලෝකයාටද බුද්ධ තත්ත්වයට පත්වීමේ නිවැරදි මාර්ගය පැහැදිලිව ප්‍රකාශ කර දේශණා කරන

නිසාත්ය.

1. මේ අනුව භව+උද්ධ = බුද්ධ යන්න පිරිසිදුව තේරුම් ගත යුතුය.

2. භව+වෘද්ධිය = බුද්ධිය සංවර්ධනය කරගෙන මත්වීම (බුද්ධිමත්) යන්න ද වෙන්කොට තේරුම් ගත යුතුය.

3. රාග අනුසය=රාග බව, පටිඝ අනුසය=ද්වේෂ බව අවිද්‍යා අනුසය = මෝහ බව යන්න ද තේරුම්ගත යුතුයි. මෙහි අනුසය = අලුතින් උපදවා නිර්මාණය කරගන්නා කෙලෙස් උත්පාදනය යන්න ද තේරුම් ගත යුතුය.

4. මෙසේ භව (බව) යන පදය හා අනුසය යන පදය ද අර්ථ, ධර්ම, නිරුක්ති, පටිසංභිදා ලෙසින්ම විග්‍රහකොට තේරුම් ගැනීම නිවනට උපකාර වෙයි.

# බුද්ධ ඤාණ

"ඉමානි තෙසත්තති ඤාණානි, ඉමෙසං තෙසත්තියා ඤාණානං, සත්තසට්ඨි ඤාණානි සාවක සාධාරණානි, ජ ඤාණානි අසාධරාණානි සාවකේහි."

බුද්ධ ඥාණයන් (73) හැත්තෑ තුනකි. මෙයින් හැට හතක් (67) බුද්ධ ඤාණයන් ශ්‍රාවකයන්ටද සාධාරණය. දරාගත හැකිය. බුද්ධ ඥාණයන් (6) හයක් ලොව්තුරා බුද්ධ තත්වයට පත්වූ උතුමෙකුට පමණක් දරාගත හැකිය. ඒවා අසාධාරණ බුද්ධ ඥාණයන් ලෙසින් විග්‍රහ වෙයි.

බුද්ධ ඥාණයන් යනු කෙලෙස් බව උදුරා දමන්නට උපකාර වන්නාවූ ඥාණයන්ය. කෙලෙස් බව සහමුලින්ම උදුරා දැමූ උතුමෙකුට උරුමයෙන්ම අයිතිවන දරාගත හැකි, ලබා ගත හැකි ඥාණයන් බුද්ධ ඥාණයන් ලෙසින් නම්කර ඇත. කෙලෙස් බව යනු රාග බව, ද්වේෂ බව හා මෝහ බව යන තුන් "භව" වේ. මේ සසර ගමන දිගින් දිගටම පවත්වාගෙන යන්නට නියත ලෙසින්ම උපකාර වන්නේ රාග බව, ද්වේෂ බව හා මෝහ බව දිගින් දිගටම යලි යලිත් සිතක උපත ලැබීමයි. "භව" උදුරා අස්කර ඉවත් කර දමන තුරාවට භව උත්පාදවෙයි. "සංභව", පුනබ්බව වෙයි. පුනබ්බව යනු පුන, පුනාම යලි යලිත්, මතු මතුවටත් නොනවත්වාම භව බිහිවීමයි. යම් දිනයකදී යමෙක් භව සහමුලින්ම උදුරා අස්කර දැමුයේ නම් එදිනට "නත්ථි දානි පුනබ්බවෝ" යනුවෙන් තමන්ටම ප්‍රකාශ කළ හැකි වෙයි. "අයමන්තිමා ජාති, නත්ථි දානි පුනබ්බවෝති" යනුවෙන් ධම්ම චක්කපවත්තන සූත්‍ර දේශණාවේදී පෙන්වා වදාළේ මෙම ධර්මතාවයයි. භව උදුරා දමා පැවැත්ම අවසන් කිරීමයි.

මේ අනුව බුද්ධ ඥාණයන් යනු "භව" උදුරා දමන්නට

උපකාරක ධර්මයෝ ලෙසින් පැහැදිලි කළහ. හැම බුද්ධ ඥාණයක්ම ලබා ගැනීමට නම් පඤ්ඤා (ප්‍රඥාව) මූලික විය යුතුමය. පහත විග්‍රහ වන සියලුම බුද්ධ ඥාණයන් පිළිබඳව කරණ මෙම විග්‍රයේ කොටස් දෙකක් ඔබට දැක ගත හැකි විය යුතුය. "සෝතාවධානයේ පඤ්ඤා, සුතමයේ ඤාණං" යන පළමුවන බුද්ධ ඥාණය විග්‍රහ කරන තැන පටන්ම සියලුම බුද්ධ ඥාණවල කොටස් දෙකක් විග්‍රහ වී ඇති බව තේරුම් ගත යුතුය.

මෙයින් පළමුව විග්‍රහ වන්නේ ප්‍රඥාවයි (පඤ්ඤා) ප්‍රඥාව නැතිව බුද්ධ ඥාණ උත්පාදනය හෝ ක්‍රියාත්මක වීම නොවන බවයි. එසේත් නැතිනම් හැම බුද්ධ ඥාණයක් ලබන්නටම (භව උදුරා දමන්නට) ප්‍රඥාව අත්‍යාවශ්‍යම ශක්තියක් හා බලයක් බවයි. බුද්ධ ඥාණ යනු කෙලෙස් භව සිතින් උදුරා දැමීමයි. කෙලෙස් ගති සිතින් උදුරා ඉවත්කර අස් කර සහමුලින්ම කෙලෙස් වලින් මිදී නිදහස් විය හැක්කේ ප්‍රඥාව මතුකර ගැනීමෙනි. (පඤ්ඤා උදපාදි) මෙහිදී ප්‍රඥාවෙන් කෙරෙන්නේ කෙලෙස් ප්‍රහාණය කර කෙලෙස් මුල් පහදා කෙලෙස් මුල් උදුරා දමන්නට අවශ්‍ය සිතක ශුද්ධ පවිත්‍ර කිරීම ක්‍රියාත්මක කිරීමයි. මෙතැනදී බුද්ධ ඥාණයන් ලබා ගැනීමට නම් පඤ්ඤා ශක්තිය අවශ්‍යම බව පැහැදිලි කලත් ප්‍රඥාව ලැබෙන්නේද තනිවම නොවේ. එයටම අනුපූරක තවත් කාරණාවෝ කිහිපයක්ම ඇත. සද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා යන පංච ඉන්ද්‍රියයන්, පංච බලයන් ඊට පුබ්බංගම වෙයි. එනම් අනුපූරක වෙයි. සද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා යන අංග පහන්ම විග්‍රහ කරණු ලබන්නේ කෙලෙස් භව මුලින්ම උදුරා දමන්නට උපකාරක වනසේ සිත පහදා, කෙලෙස් මුල් දැන තෝරා බේරා ගෙන උදුරා ඉවත් කළ යුතු දේ තීරණය කිරීමයි. (තීරණ පරිඤ්ඤා) පටිසම්භිදා මග්ග ප්‍රකරණයේ මාගධි බසින් විග්‍රහ කරනු ලබන ආකාරයට ඉතාමත් කෙටියෙන් මෙම බුද්ධ ඥාණයන් හැත්තෑ තුන (73) පිළිබඳව මෙහි විග්‍රහයක් ඉදිරිපත් කරමි.

## 1. සෝතාවධානේ පඤ්ඤා - සුතමයේ ඥානං

**කතමේ සෝතාවධානෙ පඤ්ඤා, සුතමයේ ඤාණං?**
**සබ්බේ සංඛාරා අනිච්චාති, සෝතාවධානං**
**තංපජානනා පඤ්ඤා සුතමයේ ඤාණං**
**සබ්බේ සංඛාරා දුක්ඛාතී සෝතාවධානං,**
**තංපජානනා පඤ්ඤා සුතමයේ ඤාණං, සබ්බේ ධම්මා**
**අනත්තාතී සෝතාවධානං, තං පජානනා පඤ්ඤා**
**සුතමයේ ඤාණං, ඉමේ ධම්මා අභිඤ්ඤෙයාතී**
**සෝතාවධානං, තං පජානනා පඤ්ඤා සුතමයේ ඤාණං,**

ඉමේ ධම්මා පරිඤ්ඤෙයියාතී සෝතාවධානං තංපජානනා පඤ්ඤා සුතමයේ ඤාණං, ඉමේ ධම්මේ පහාතබ්බාතී සෝතා-වධානං, තං පජානනා පඤ්ඤා සුතමයේ ඤාණං, ඉමේ ධම්මේ භාවේතබ්බාති සෝතාවධානං, තංපජානනා පඤ්ඤා සුතමයේ ඥාණං ඉමේ ධම්මා සච්ජීකාතබ්බාතී සෝතාවධනං, තංපජානනා පඤ්ඤා සුතමයේ ඤාණං"

ශාස්තෘන් වහන්සේ දේශනාකර වදාල ධර්මය පළමුව අවධානයෙන් යුතුව අසාදැන තම තමන්ගේ සිත තුළම උපත ලබන කෙලෙස් නැවත නැවතත් යලි යලිත් උපදින්නට හේතුවද අසා දැන, කෙලෙස් යලි නොඋපදින ලෙස උසස් මට්ටමෙන්ම යථාභූත ඥානයෙන් සත්‍යය දැක ගැනීම මෙම බුද්ධ ඥාණයයි. අනිච්ච, දුක්ඛ, අනත්ත යනාදී ත්‍රිලක්ඛණය යථා පරිදි දැන දුක පිරිසිඳ දැක ගැනීම පළමුවන බුද්ධ ඤාණයේ අඩංගු වන හරයයි.

## 2. සුත්වාන සංවරේ පඤ්ඤා - සීලමයේ ඤාණං

සීලන්ති චේතනා සීලං, චේතිසික සීලං, සංවරෝ සීලං අවිතික්කමෝ සීලං

කති ධම්ම සමෝදානං සීලන්ති - සංවරට්ඨේන සීලං, අවිතික්කමට්ඨේන සීලං, පහානට්ඨේන සීලං, වේරමණීයා සීලං

චේතනා සීලං

**පංච සීලානි**

1. පරියන්ත පාරිශුද්ධ සීලං (අනුප සම්පන්න සීලය) ("සං" දැක නොගත්, ධම්මෝ සංදිට්ඨිකෝ නොවූ අයගේ සීලය)
2. අපරියන්ත පාරිශුද්ධ සීලං (උපසම්පන්න පටිපදා)
3. පරිපුන්න පාරිශුද්ධ සීලං (සේඛපරියන්ත සීලය) සෝතාපන්න මාර්ග සීලය)
4. අපරාමට්ඨ පාරිශුද්ධ සිලං (සෝතාපන්න ආදි මගඵල ලැබුවන්ගේ සීලය)
5. පටිපස්සද්ධි පාරිශුද්ධි සීලන්ති (ලොව්තුරා බුද්ධ පච්චේක බුද්ධ, අරහත් බුද්ධ ආදී අරහතුන් වහන්සේලාගේ සීලය)

ඇසු ධර්මය අනුගමනය කිරීමෙන්, ඉන්ද්‍රිය සංවරය ආහාරේ මතඤ්ඤුතාව, ජාගරියං අනුයුක්තෝ යන ත්‍රිවිධාකාර සංවරයෙන් යුතුව ජීවිත පැවැත්ම ගෙන යන්නේ සීලමයේ ඥාණයන් සම්පූර්ණ වී අනුක්‍රමයෙන් පෘථග්ජන කල්‍යාණ තත්වයේ සිට ක්‍රමයෙන් කෙලෙස් ප්‍රහාණය කරමින් අරහත් මගඵලයට පත්වන්නට උපකාර වන ප්‍රඥාව නිසා සීලමයේ ඤාණය නමැති බුද්ධ ඤාණය සම්පූර්ණ වන්නේය.

**3. සංවරිත්ථා සමාදහනේ පඤ්ඤා - සමාධි භාවනාමයේ ඤාණං**

තං ඥාතට්ඨේන ඤාණං, පජානනට්ඨේන පඤ්ඤා තේන වුච්චති සංවරිත්වා සමාදහනේ පඤ්ඤා සමාධි භාවනාමයේ ඤාණං"

මෙත්තානුස්සති වශයෙන් චිත්ත ඒකග්ගතාවයට පත්වීම සමාධියකි. අසුභානුස්සති වශයෙන් චිත්ත ඒකග්ගතාවයට පත්වීම සමාධියකි. මරණානුස්සති වශයෙන් හා බුද්ධනුස්සති වශයෙන් චිත්ත ඒකග්ගතාවයට පත්කරගැනීම සමාධියකි. මේ සතර කමටහන් නිවැරදිව අනුගමනය කිරීම මගින් කෙලෙස් භව උදුරා දමන්නට

ඇතිවන හැකියාව ශක්තිය බුද්ධ ඥාණයකි. මෙහිදී ලෞකික වූ අනාර්ය සමාධියකුත්, ලෝකෝත්තර වූ විපස්සනා අනුපස්සනාවකුත් සම්පූර්ණ වීම සමාධිභාවනාමයේ ඥාණං නමැති බුද්ධ ඥාණයයි.

## 4. පච්චයපරිග්ගහේ පඤ්ඤා - ධම්මට්ඨිති ඥාණං

අවිජ්ජා සංඛාරානං උප්පාදට්ඨිති ච - පවත්තට්ඨිති ච - නිමිත්තට්ඨිතිච - ආයුහනට්ඨිති ච - සඤ්ඤෝගට්ඨිති ච - පලිබෝධට්ඨිතිච - සමුදයට්ඨිතිච - හේතුට්ඨිති ච - පච්චියට්ඨිති ච - ඉමෙහි නව ආකාරයෙහි අවිජ්ජා පච්චයා සංඛාරා පච්චය සමුප්පන්නා, උබෝපේතේ ධම්මා පච්චයසමුප්පන්නාති - පච්චයා පරිග්ගහේ පඤ්ඤා ධම්මට්ඨිති ඥාණ"

ධම්මට්ඨිති ඥාණං බුද්ධ ඥාණයකි. නව අකාර වූ අකුසල් සිත් උපදින්නට මුල්වූ හේතු වූ නිධාන වූ, ප්‍රත්‍ය වූ කරුනු යථාපරිදි දැනගෙන ප්‍රඥාවෙන් කෙලෙස් භව උදුරා දැමීම (පරිග්ග හේ) බුද්ධ ඥාණයකි. "පටිච්ච" යනු මුල් වූ, නිධාන වූ, ප්‍රත්‍ය වූ හේතු යන්නයි. එම හේතුන් නිසා අවිද්‍යාව නිසා සංඛාර උපදවයි, පවත්වයි. නිමිති ඇති කරයි. ඒවා ඵල විපාක ලෙසින් උරුම කරදෙයි ආදි වශයෙන් මේවා දැක කෙලෙස් උදුරා දමන්නට උපකාර වන ඥාණය ධම්මට්ඨිති ඥානයයි.

## 5. අතීත, අනාගත, පච්චුප්පන්නා නං ධම්මානං සංඛිපිත්වා වවත්ථානෙ පඤ්ඤා - සම්මස්සනේ ඥනං

යං කිංචි රූපං අතීතානාගතපච්චුප්පනානං අජ්ඣත්තංවා, බහිද්ධවා, ඕලාරිකං වා, සුඛුමංවා, හීනංවා, පණීතං වා, යංදූරේ වා, සත්තිකේ වා, සබ්බං රූපං අනිච්චතෝ වවතේථති, ඒකං සම්මස්සනං, දුක්ඛකෝ වවත්ථෙති, ඒකං සම්මස්සනං අනත්තතෝ වවත්ථෙති ඒකං සම්මස්සනං

සම්මස්සන ඥනය බුද්ධ ඥානයකි. රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ ආදී පංචස්කන්දයම අතීත අනාගත ආදී

වශයෙන් වන එකලොස් ආකාරයෙන්ම සංඛාර වශයෙන් ක්‍රියාත්මක කර සිතකින්ම උපාදානය කරගනී. මෙසේ සිතකට ලැබෙන සියලු සංඛාර අනිච්ච වශයෙන්, දුක්ඛ වශයෙන්, අනත්ත වශයෙන්, මෙනෙහි කර "සං" මස්සනය කිරීම සම්මස්සන ඥාණයයි. භව උදුරා දමන්නට බලවත් සේම උකාරවන්නේ මෙම ත්‍රිලක්ඛණය මෙනෙහි කිරීමයි. ත්‍රිලක්ඛණය යනු "අනිච්ච, දුක්ඛ, අනත්ත" මිසක "අනිත්‍යයි, දුකයි, අනාත්මයි" යන වැරදි පරිවර්ථනය නොවේ.

## 6. පච්චුප්පන්නානං ධම්මානං විපරිනාම අනුපස්සනේ පඤ්ඤා - උදයබ්බයානු පස්සනේ ඤාණං"

"ජාතං රූපං පච්චුප්පන්නං, තස්ස නිබ්බත්ති තිලක්ඛණං උදයෝ, විපරිනාම ලක්ඛණං වයෝ, අනුපස්සණා ඤාණං" රූප, වේදනා, සංඥා ආදී උපාදානය කරගත හැකි සියලුම පංචස්කන්ද අංගයන්ම වත්මන් මොහොතේදී උපත ලබන්නේ සිතකමය. වර්තමානයේ සිතක උපත ලබන රූපාදී සියලු අරමුණු අභිනව තත්වයෙන් අලුතින් උපත ලැබීම උදය වීමයි. රූපාදී අරමුණු විපරිනාමයට පත්වීම වැයවී යාමයි. මේ උදය හා වැය වීම දැක ගැනීම උදයබ්බයානු පස්සනේ ඤාණයයි. මෙහි අදහස නොකඩවාම මෙසේ උදය වීම හා වැයවීම සිදුවන්නේ හේතුපල පරම්පරාවක් නිසා පමණක් බවත්, එය නිච්චවූ දෙයක් නොවන බවත් දැක ගැනීම පස්සනේ ඥාණයයි.

## 7. ආරම්මණං පටිසඞ්ඛා භාංගානුපස්සනේ පඤ්ඤා විපස්සනේ ඤාණං

"රූපාරම්මණතා චිත්තං උප්පජ්ජිත්වා භිජ්ජති, තං ආරම්මණං පටිසංඛා තස්ස චිත්තස්ස භංගා අනුපස්සති"

අනිච්චතෝ අනුපස්සති - නො නිච්චතෝ
දුක්ඛතෝ අනුපස්සති - නො සුඛතෝ, නොසුඛ තෝ
අනත්තතෝ අනුපස්සති - නො අත්තතෝ
නිබ්බිංදති - නො නන්දති, නො අභිනන්දති

විරජ්ජති - නො රජ්ජති, නො රාගති
නි රෝදෙති - නො සමුදේති
පටිනිස්සග්ගති - නො උපාදියති

අනිච්ච, දුක්ඛ, අනත්ත ත්‍රිලක්ඛණය නිවැරදිවම තේරුම් ගෙන අනුපස්සනා කිරීමෙන් නිච්ච, සුඛ, සුබ, අත්ත සංඥා ප්‍රහාණය කිරීම විපස්සනා ඥාණයයි. මෙය ත්‍රිලක්ඛණ භාවනාවයි. මරණානුස්සති භාවනාව හා බුද්ධානුස්සති භාවනාවයි. බුද්ධ භාවනාවක් ලෙසින් භාවනා කර කෙලෙස් මුල් (භව) කපා දමන්නට උපකාර වන්නේ මෙම විපස්සනා අනුපස්සනා භාවනාවන් යථාපරිදි තේරුම් ගෙන භාවනා කිරීමයි.

"හේතුං පටිච්ච සංභූතං, හේතු භංගා නිරුජ්ඣති" යන්න අවබෝධ කරගැනීම "පටිසංඛා භංග" කිරීමටද උපකාරක වෙයි. මෙය ප්‍රඥාවකි. ඒ මගින් විපස්සනා අනුපස්සනා බුද්ධ ඥාණයන් ලැබෙයි.

"පටිසංඛා" සහ "පච්චවෙක්ඛිතබ්බං" යන පද දෙකෙහි වෙනසක් ඇති බව මෙහිදී අවබෝධ කරගත යුතුය.

**8. භයතුපට්ඨානේ පඤ්ඤා - ආදීනවේ ඤාණං**

උප්පාදෝ භයන්ති, පවත්තං භයන්ති, නිමිත්තං භයන්ති, ආයුහනං භයන්ති, පටිසන්ධිං භයන්ති, ගතිං භයන්ති, නිබ්බත්තිං භයන්ති, උපපත්තිං භයන්ති, ජාති, ජරා ව්‍යාධි මරණ, ශෝක පරිදේව උපායාසෝ භයන්ති.

**භයතු පට්ඨානේ පඤ්ඤා ආදීනවේ ඤාණං**

අනුප්පාදෝ ඛේමන්ති, අප්පටිසන්ධිං ඛේමන්ති. අගතිං ඛේමන්ත්ති අනිබ්බතිං ඛේමන්ති, අනුපපත්තිං ඛේමන්ති, අජාති, අජරා අව්‍යාධි, අමර, අශෝක අපරිදේව අනුපයාසෝ ඛේමන්ති.

ඛේමන්ති සන්තිපදං ඤාණං, ආදීනවේ ඤාණං

උපත භයට හේතුවයි. අනුත්පාද වීම ශාන්ති පදයයි. නිවනයි. එය ඛේමං යන ශාන්ති පදයයි. ඛන්ති, ඛේමං යනු ශාන්ති පදයයි. භය යනු ඛේමං යන පදයේ විරුද්ධ පදයයි. භයෙන් මිදී නිදහස්වීම භයතු පට්ඨානේ පඤ්ඤායි. ඛයෙන් මිදී නිදහස් වීමම ආදීනවේ ඤාණය නමැති බුද්ධ ඤාණය අවබෝධ කරගැනීමයි. මේ පටිච්ච සමුප්පාද විග්‍රහයම වෙනත් ආකාරයකින් ඉදිරිපත් කිරීමකි. භයට මූලික හේතුව උපතයි. උපතින් මිදී නිදහස් වීමම ආදීනව ඤාණය අවබෝධ වීමයි.

## 9. මුංචිතුකම්‍යතා පටිසංඛා සන්තිට්ඨනා පඤ්ඤා සංඛාර උපෙක්ඛා ඤාණං

"සබ්බේ සංඛාරා අනිච්චාතී යථා පඤ්ඤාය පස්සති, අතනිබ්බිදෙති දුක්කේ ඒස මග්ගෝ විමුත්තියා"

සියලු සංඛාරයන් උපෙක්ඛා සිතින් ඉවසා විමසා බලා විමුක්තියට පත්වීමේ නිවී සැනසීම ලැබීමේ ඥාණය සංඛාර උපෙක්ඛා ඥාණයයි. මේ සඳහා උපකාර වන්නාවූ ප්‍රඥාව (පඤ්ඤා) මුංචිතුකම්‍යතා, පටිසංඛා, සන්තිට්ඨනා පඤ්ඤායි. මුංචිතුකම්‍යතා යනු - යථාභූත ඥාණය ලබාගෙන සිතේ නැවත, මතුවන කෙලෙස් ගති සිතින් උදුරා ගලවා ඉවත් කර දමන්නට කැමැත්තෙන්ම ක්‍රියාකරන්නට ලැබෙන ශක්තිය යන්නයි. (කෙලෙස් මුල් උදුරා දමන්නට කැමති වීම)

සිතකට ප්‍රිය මනාපවූ, මිහිරිවූ, සුවයි සුභයි කියා තීරණය කළදේ (සංඛාර) කැමැත්තෙන්ම සිතින් ඉවත්කර චේතෝ විමුක්තියත්, ප්‍රඥාවිමුක්තියත් ලැබීමට උපකාරවන්නේ සංඛාර උපේක්ඛා ඥාණය නමැති බුද්ධ ඤාණයයි.

පටිසංඛා - සන්තිට්ඨනා යනු ප්‍රත්‍යවේක්ෂා ඥාණයන් හා සිතේ "සං" ක්‍රියාත්මක වන ආකාරය දැකීම (සම්මදක්ඛතා) පිළිබඳ ප්‍රඥාවයි. සංඛාර උපෙක්ඛා ඥාණය බුද්ධ ඥාණයන් (භව උදුරා

දමන්නට උපකාරක ඥාණයන්) අතරින් ඉතාමත්ම බලවත් ඥාණයකි. “කතිහාකාරේහි සංඛාර උපෙක්ඛාය චිත්තස්ස අභිනීහාරෝ හෝති - අට්ඨහාකාරේහි (8) සංඛාරුපෙක්ඛාය චිත්තස්ස අභිනිහාරෝ හෝති, සංඛාර උපෙක්ඛා ඥාණය අට ආකාරය කින් විග්‍රහවෙයි. පෘතග්ජන පුද්ගලයින්ටද සංඛාර උපෙක්ඛා ඥාණය දෙයාකාරකින් අවබෝධ වෙයි. සෝතාපන්න ආදී මගපල ලැබූ සේක. පුද්ගලයින්ට තුන් ආකාරයකින් සංඛාර උපේක්ඛා ඥාණය අවබෝධ වෙයි. වීතරාගස්ස වූ අරහතුන් වහන්සේලාට තුන් ආකාරයකින් සංඛාර උපේක්ඛා ඥානය අවබෝධ වෙයි.

මෙතුවක් කලක් සාරයි, වටිනවා, ප්‍රියයි මනාපයි කියා තීරණය කළ, ක්‍රියාත්මක කළ, රාගයෙන් ඇලීම, ද්වේෂයෙන් ගැටීම, මෝහයෙන් මැනීම යන ක්‍රියාවන්හි නිස්සාර බව, අනාථ බව, අසාර බව දැක කැමැත්තෙන්ම මෙවන් වූ කෙලෙස් ගති සිතින් උදුරා ඉවත් කර දැමීමේ ශක්තිය සංඛාර උපේක්ඛා ඥාණයයි. මේ කෙලෙස් කැමැත්තෙන්ම සිතින් උදුරා ඉවත්කර දමන්නටත්, කෙලෙස් මුල් උදුරා ඉවත් කළ බව ප්‍රත්‍යවේක්ඛා ඥාණයෙන් මෙනෙහි කරන්නටත්, ධම්මෝ සංදිට්ඨිකෝ තත්වයෙන් සං දැක ඉන් මිදී නිදහස් වන්නටත්, ඇති කැමැත්ත ප්‍රඥාවයි. මුංචිතුකම්‍යතා, පටිසංඛා, සංතිට්ඨනා යන පද තුනෙන්ම විග්‍රහකලේ සියලුම සංඛාරයෝ උපේක්ඛා සිතින් ඉවසා විමසා ක්‍රියාකරන්නට ලබාගත් ශක්තිය විග්‍රහ කිරීමයි. බුද්ධ ඥාණයන් යනු භව උදුරා දමන්නට උපකාර ඥාණයන්ය. රාග බව, ද්වේෂ බව, මෝහ බව උදුරා දමන්නට නියත වශයෙන්ම හා බලවත් ලෙසින්ම උපකාරවන ඥාණය සංඛාර උපේක්ඛා ඥාණයයි. සබ්බේ සංඛාරා අනිච්ච බව, දුක්ඛ බව, අනත්ත බව දැකගත හැකිවන්නේ මෙම බුද්ධ ඥාණයෙනි.

## 10. බහිද්ධා වුට්ඨානවිවට්ටනේ පඤ්ඤා ගෝත්‍රභූ ඤාණං

“උප්පාදං වුට්ඨාතීති ගෝත්‍රභූ, පවත්තං වුට්ඨාතීති ගෝත්‍රභූ නිමිත්ත වුට්ඨාතීති ගෝත්‍රභූ, ආයුහන වුට්ඨාතීති ගෝත්‍රභූ,.... බහිද්ධා

සංඛාර නිමිත්තා වුට්ඨාතීති ගෝත්‍රභූ, බාහිද්ධා සංඛාර නිමිත්ත වුට්ඨහිත්වා නිරෝධා නිබ්බානං, පක්ඛන්‍දතීති ගෝත්‍ර භූ, බහිද්ධා සංඛාර නිමිත්තා විවට්ටතීති ගෝත්‍රභූ"

තම සිතින් කෙලෙස් මුල් උදුරා ඉවත් කර දමන පිරිසිදු චේතනාවෙන් යුක්තවීමත් අවිද්‍යා මූලයෙන් සිතේ උපත ලැබූ අරමුණු, ක්‍රියාත්මකව පවතින, නිමිනි වශයෙන් ගන්නා, ගති හැටියට මුල්බැස ගන්නා කෙලෙස් ගති, දිගේ සිතෙන්ම රෝද නොකර ඒවා සිතින් උදුරා ඉවත් කර ඒවායින් මිදී නිදහස් වන ඥාණයත් ග්‍රෝතභූ ඥාණය වශයෙන් පෙන්වා දෙයි. මෙයද කෙලෙස් බව මුලින් උදුරා දමා සිත නිදහස් කර දමන්නට උපකාරක වන නිසා බුද්ධ ඥාණයකි.

## 11. දුභතෝ වුට්ඨාන විවට්ටියේන පඤ්ඤා මග්ගේ ඤාණං

සෝතාපත්ති මග්ගක්ඛනේ (1) දස්සනට්ඨෙන සම්මා දිට්ඨි, මිච්ඡාදිට්ඨියා වුට්ඨාති, තදනුවත්තකකිලේසේහිච ඛන්දේහිච වුට්ඨාති, බහිද්ධ ච සබ්බ නිමිත්තේහි වුට්ඨාති තේන වුච්චති:"

- ii. අභිනිරෝපනට්ඨේන සම්මාසංකප්පෝ, මිච්ඡා සංකප්පෝ වුට්ඨාති
- iii. පරිග්ගහට්ඨේන සම්මා වාචා මිච්ඡාවාචාය වුට්ඨති.
- iv. සමුට්ඨානට්ඨේන සම්මා කම්මන්තෝ මිච්ඡා කම්මන්තෝ වුට්ඨති.
- v. චෝදනට්ඨේන සම්මා ආජීවෝ මිච්ඡා ආජීවෝ වුට්ඨාතී.
- vi. පග්ගහට්ඨේන සම්මා වායාමා මිච්ඡාවායාමෝ වුට්ඨාතී.
- vii. උපට්ඨානට්ඨේන සම්මා සති මිච්ඡා සතියා වුට්ඨාතී.
- viii. අවික්ඛේපට්ඨේන සම්මා සමාධි මිච්ඡා සමාධිතෝ වුට්ඨාති.

මෙම බුද්ධ ඥාණය සෝතාපත්ති මාර්ගය, සකෘදාගාමී මාර්ගය, අනාගාමී මාර්ගය හා අර්හත් මාර්ගය යන මාර්ග හතරම සම්පූර්ණ වීමට උපකාරක වන, සම්මා අංගයන් සම්පූර්ණ කරගන්නට අවශ්‍යවන කෙලෙස් උදුරා දමන ප්‍රඥාව විග්‍රහ

කරදෙන්නකි. ආර්ය අෂ්ටාංගික මාර්ගය සම්පූර්ණ වෙද්දී එක එකක්ම සම්මා අංගයන් සම්පූර්ණ වන්නේ තදින්ම මුල් බැසගත් කෙලෙස් මුල් එකිනෙකම උදුරා දැමීමෙනි. සම්මා දිට්ඨියට පත්වන්නේ මිච්ඡා දිට්ඨියට හේතු වූ කෙලෙස් මුල් ගලවා දැමීමෙනි. (වැරදි දැක්ම) සම්මා සංකප්ප සම්පූර්ණ වන්නේ තදින්ම මුල්බැසගෙන පැවති මිත්‍යාසංකල්ප උදුරා දැමීමෙනි සම්මා වාචා සම්පූර්ණ වන්නේ තදින්ම මුල්බැසගෙන පැවති මිත්‍යා වාචාවට හේතු වූ කෙලෙස් මුල් ගලවා උදුරා දැමීමෙනි. සම්මා කම්මන්ත සම්පූර්ණ වන්නේ මිච්ඡා කම්මන්ත තත්වයට මුල් වූ කෙලෙස් මුල් සහමුලින්ම මුලින් උපුටා දැමීමෙනි. සම්මා ආජීව සම්පූර්ණවන්නේ මිච්ඡා ආජීවයට මුල් වූ තදින් බැසගත් කෙලෙස් මුල් සහමුලින්ම ගලවා ඉවත් කිරීමෙනි.

සම්මා වායාම සම්පූර්ණ වන්නේ මිච්ඡාවායාමයට මුල්වූ තදින්ම මුල්බැසගත් කෙලෙස් මුල් (ගති පුරුදු) සහමුලින්ම උදුරා දැමීමෙනි. සම්මා සති සම්පූර්ණ වන්නේ මිච්ඡා සතියට හේතු වූ තදින්ම මුල් බැස ගත් කෙලෙස් මුල් ගලවා ඉවත් කිරීමෙනි.

සම්මා සමාධිය සම්පූර්ණ වන්නේ මිච්ඡාසමාධියට හේතු වූ තදින්ම මුල්බැසගත් කෙලෙස් මුල් ගලවා උදුරා දැමීමෙනි.

මේ ආකාරයට සෝතාපත්ති මාර්ගය, සකෘදාගාමී මාර්ගය, අනාගාමී මාර්ගය, අරහන්ත මාර්ගය යන සතර මාර්ගයේදීම මෙවන් වූ ආර්ය අට්ඨාංගික මාර්ගයක් සම්පූර්ණ වී තදින් සිතේ මුල්බැසගත් කෙලෙස් මුල් හතරවරකදීම උදුරා ඉවත් කර අස්කර දමයි. මෙය බුද්ධ ඥාණයන් සම්පූර්ණ වීමයි. කෙලෙස් හව උදුරා දැමීමයි. කෙලෙස් මුල් (හව) උදුරා දමන තුරු මිච්ඡා ගති පවතී.

## 12. පයෝගපටිපස්සද්ධි පඤ්ඤා ඵලේ ඥාණං.

මාර්ගය සම්පූර්ණකරගත් පසු ලබන අධිගම මග ඵලයන්ට පත්වීමේ බුද්ධ ඥාණයයි. මේ පැහැදිලි කිරීම සඳහා කරණ ලද

විග්‍රහය සෝතාපන්න ආදී මාර්ගයන් හතර සඳහා විස්තර කරණ ලද කෙලෙස් භව උදුරා දැමීමෙන්ම මගඵල ලාභී වන ආකාරය විස්තර කිරීමයි. මෙයද බුද්ධ ඥාණයකි. මාර්ග ඵලයන් සතර අවස්ථාවකදීම සම්පූර්ණ වන්නේ සත්තිස් බෝධි පාක්ෂික ධර්මයන් අනුපූරකව සම්පූර්ණ කර ගැනීමෙනි.

## 13. ඡින්නවට්ටමනුපස්සනේ පඤ්ඤා විමුක්ති ඤාණං

සෝතාපත්ති මග්ගේන සක්කායදිට්ඨි විචිකිච්චිතා සීලබ්බත පරාමාසෝ, දිට්ඨානුසයෝ, විචිකිච්චානුසයෝ අත්තනෝ චිත්තස්ස උපක්කිලේසා සම්මා සමුච්ඡින්නා හොන්තී, ඉමේහි පංච උපක්කිලේසේහි පරියුට්ඨානේහි චිත්තං විමුත්තං හෝති, සුවිමුත්තං

සකදාගාමී මග්ගේන ඕලාරිකං කාමරාග සංඤෝජනං පටිඝසංඤෙද්ජනං, ඕලාරිකෝ කාමරාග අනුසයෝ පටිඝානුසයෝ අත්තනෝ චිත්තස්ස උපක්කිලේසා සම්මා සමුච්ඡින්නා හොන්තී.

අනාගාමී මග්ගේන අනුසහගතං කාමරාග සංඤෝජනං පටිඝ සංඤෝජනං අනුසහගතෝ කාමරාගඅනුසයෝ පටිඝානු සයෝ අත්තනෝ චිත්තස්ස උපක්කිලේසා සම්මා සමුච්ඡින්නා හොන්තී. අරහන්ත මග්ගේන රූපරාගෝ, අරූපරාගෝ, මානෝ, උද්දච්චං අවිජ්ජා, මානානුසයෝ, අවිජ්ජානුසයෝ, භවරාග අනුසයෝ අත්තනෝ චිත්තස්ස උපක්කිලේසා සම්මා සමුච්ඡින්නා හොන්තී.

මේ ආකාරයෙන් සංයෝජන දහය සහ අනුසය ධර්ම හතම ඡින්නවට්ටමනුපස්සනා (සහමුලින් කෙලෙස් භව උදුරා දැමීම) මඟින් විමුක්ති ඤාණය සම්පූර්ණ වෙයි. මෙය සෝතාපන්න, සකදාගාමී, අනාගාමී අරහත් යන සතර මග ඵලයන්ට පත්වන අවස්ථාන්හිදීම කෙලෙස් මුල් කපා, සංයෝජන ප්‍රහාණය කර අනුසය යලිනුපදින ආකාරයට සිත විමුක්ති මාර්ගයට පත්කරගත යුතුය. ප්‍රඥා-විමුක්තියට පත්වන්නේ, මගපල ලබා නිබ්බාන තත්වයට පත්වන්නේ, මෙම බුද්ධ ඥාණයෙන් කෙලෙස් භව සහමුලින්ම කපා උදුරා

දැමීමෙනි. අනුසය ධර්මයන් සිතක අලුතින් උත්පාදනය වීම එක දිගටම දින හතක් සහමුලින්ම නවතා දැමීමෙන් විමුක්ති ඥාණ දර්ශනය සම්පූර්ණ වී අරහත්ඵලය ක්ෂාත්ක්ෂාත් කරගනී.

ජින්න වට්ට යනු වටය කපා දැමීම සඳහා අනුපස්සනා කිරීමයි. වටය යනු රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් සකස් කර සාදාගත් සංසාර වටයයි. මේ වටය විවට්ට කිරීමට උපකාරවන්නේ ජින්නවට්ට කිරීමයි. මෙය විමුක්ති ඥාණයයි.

## 14. තදා සමුදාගතේ ධම්මේ පස්සනේ පඤ්ඤා පච්චවෙක්ඛනේ ඤාණං

පච්චවෙක්ඛනේ ඤාණය යනු ප්‍රත්‍යවේක්ෂා ඥාණයන්ය. පසු විපරම් කර ප්‍රතිලාභ - ප්‍රතිවේධ වශයෙන් තමන් පැමිණි මග ආපසු හැරී බලා යථාභූත ඥාණ දර්ශනය ලැබීම මෙහිදී සිදුවෙයි.

ආධිපතෙය්‍යටේඨ්න ඉන්ද්‍රියා තදා සමුදාගතං,
අකම්පියට්ඨේන බලා තදා සමුදාගතා,
නිය්‍යානට්ඨේන බොජ්ඣඞ්ගා තදා සමුදාගතා,
හේතුට්ඨේන මග්ගෝ තදා සමුදාගතා,
උපට්ඨානට්ඨේන සතිපට්ඨානා තදා සමුදාගතා,
පහදනට්ඨේන සම්මප්පධානා තදා සමුදාගතා,
ඉජ්ඣනට්ඨේන ඉ ද්ධිපාදා තදා සමුදාගතා,
තථට්ඨේන සච්චං තදා සමුදාගතා,
අවික්ඛේපට්ඨේන සමථං තදා සමුදාගතා,
අනුපස්සනට්ඨේන විපස්සනා තදා සමුදාගතා,
ඒකරසට්ඨේන සමථ විපස්සනා තදා සමුදාගතා
අනතිවත්තනට්ඨේන යුගනද්ධං තදා සමුදාගතා
සංවරටේඨ්න සීලවිශුද්ධිං තදා සමුදාගතා,
අවික්ඛේපට්ඨේන චිත්ත විශුද්ධිං තදා සමුදාගතා
දස්සනට්ඨේන දිට්ඨිවිශුද්ධිං තදා සමුදාගතා,
විමුක්ති අට්ඨේන විමොක්ඛා තදා සමුදාගතා,
පටිවේදනට්ඨේන විජ්ජා තදා සමුදාගතා,
පරිච්චාගට්ඨේන විමුත්තී තදා සමුදාගතා,

සමුච්චේදට්ඨේන ඛයේ ඤාණං තදා සමුදාගතා,

මෙහි සඳහන් වන්නේ ඉන්ද්‍රිය ධර්ම, බල ධර්ම, සතර සතිපට්ඨාන, සතර සම්මප්පධාන සතර ඉද්ධිපාද ආදී වශයෙන් සත්තිස් බෝධි පාක්ෂික ධර්මයෝත්, පසුව සප්ත විශුද්ධීන් සත් ප්‍රත්‍යවේක්ෂා ඥාණයෙන් මෙනෙහි කර මෙතෙක් කලක් සාරයි, වටිනවා, කියා සිතූ බොහෝමයක් දේවල් වලට තදින්ම සම්බන්ධවී බැඳී සිටි තමන් එම බැම්වලින් මිදී දැන් ඒවායින් නිදහස් වන, පිරිසිදු වන ආකාරය පසුවිපරම් කිරීමයි. තදා සමුදාගතා යනුවෙන් හැම පියවරකදීම විග්‍රහ කර පෙන්වුයේ මෙතෙක් සංසාරයට බැඳී තදින්ම සම්බන්ධ වී සිටි බැම් වලින් මිදී නිදහස් වන ආකාරය හා නිදහස් වූ ආකාරය පසුවිපරම් කර බැලීමයි. සත්තිස් බෝධිපාක්ෂික ධර්මයන් එකක් එකක් පාසාම යම් බුද්ධ ශක්තියක් (කෙලෙස් භව උදුරා දැමීමට උපකාරක ශක්තියක්) තමන් තුළම උත්පාදනය වන බවත් අන්තිමට සමුච්චේදනය කිරීමේ එනම් සංසාර බැම් සහමුලින්ම කපා බැම් සිඳ දැමීමේ බුද්ධ ඥාණයන් සම්පූර්ණ වූ බවත් මෙහිදී පෙන්වා දෙයි. මෙය ඛයේ ඥාණයයි. එනම් ආසවක්ඛයේ ඥාණය, රාගක්ඛයේ ඥාණය, ද්වේෂඛ් ඛයේ ඥාණය, මොහක්ඛයේ ඥාණය, කම්මක්ඛයේ ඥාණය ආදියයි. මේවා බුද්ධ ඥාණයන්ද වෙයි. කෙලෙස් බව සිතින් උදුරා අස්කර දැමීම කළ හැකිවන්නේ බුද්ධ ඥාණයේ මාර්ගයෙන්ම පමණි.

## 16. බහිද්ධා වවත්ථානේ පඤ්ඤා ගෝචර නානත්තේ ඤාණං

කතං බහිද්ධා ධම්මේ වවත්ථේති - රූපේ බහිද්ධා වවත්ථේති, සද්දෝ බහිද්ධා වවත්ථේති, ගන්ධෝ බහිද්ධා වවත්ථේති, රසේ බහිද්ධා වවත්ථේති, පොට්ඨබ්බේ බහිද්ධා වවත්ථේති. ධම්මේ බහිද්ධා වවත්ථේති.

රූපා, අවිජ්ජා සංභූතා, තණ්හා සම්භූතා, කම්මසංභූතා, ආහාර සම්භූතා, චතුන්නං මහා භූතානං උපාදායති, වවත්තේති.

රූපා, අනිච්චා, සංඛතා, පටිච්චසමුප්පන්නා, ඛය ධම්මා

වයධම්මා, විරාග ධම්මා, නිරෝධ ධම්මා වවත්තේති.

රූපේ අනිච්චතෝ වවත්තේති, නො නිච්චතෝ, දුක්ඛතෝ වවත්තේති, නො සුඛතෝ, අනත්තතෝ වවත්තේති, නො අත්තතෝ. නිබ්බින්දති, නොනන්දති. විරජ්ජති, නොරජ්ජති. නිරෝධෙති, නො සමුදේති, නොරෝදති, පටිනිස්සජ්ජති, නො අදියති. නොඋපාධියති. අනිච්චතෝ අනුපස්සන්තෝ, නිච්චං පජහාති. දුක්ඛකෝ අනුපස්සන් තෝ, සුඛසඤ්ඤං පංහති. අනත්තතෝ අනුපස්සන්තෝ, අත්ත සංඤ්ඤං පජහති. නිබ්බිංදන්තෝ නන්දිං පජහති. විරජ්ජන්තෝ රාගං පජහති. නිරෝධෙන්තෝ සමුදයං පජහති. පටිනිස්සජ්ජන්තෝ ආදානං පජහති. (සබ්බුපදි පජහති) රූපේ බහිද්ධා වවත්තේති.

රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධම්ම යන හය ආකාරවූ බාහිරයෙන් පැමිනෙන සියලු දේ කෙරෙහි මේ ආකාර වූ මෙනෙහි කිරීම භාවිත කරන්නේ, භාවනා කරන්නේ අනුපස්සනා කරන්නේ, වත්ථුනාත්ථ ඥාණය සම්පූර්ණ වේ. පෘතග්ජන ලෝකයා රූප, ශබ්ද, ගඳ, සුවඳ, රස, සුව පහස මෙන්ම ධම්ම නිච්චසේ සුවසේ, අත්ත සේ ගනී.

වවත්තේති යනු සතියෙන් ධර්මයට සූත්‍රයට බහා ගලපා බැලීම, හා ණය-විනය-සලකා විනයට සසඳා බැලීමයි. යම් ලෙසකින් නය වේ නම් ඉන් වෙන්වී නිදහස් විය යුතුමය. ත්‍රිලක්ඛණයට ගලපා බැලීම කළ යුතුමය. මෙය වත්තුනානත්ත ඤාණයයි.

## 17. චරියාවවත්ථානේ පඤ්ඤා චරියා නානත්තේ ඤාණං

(චරියා තුනකි.) තිස්සෝ චරියා.

1. විඤ්ඤාණ චරියා
2. අඤ්ඤාණ චරියා
3. ඤාණ චරියා

"අඤ්ඤා විඤ්ඤාණ චරියා, අඤ්ඤා අඤ්ඤාණ චරියා, අඤ්ඤා ඤාණං චරියා තං ඤාතට්ඨේන ඤාණං පජානනට්ඨේන

පඤ්ඤා චරියා වවත්තේන පඤ්ඤා චරියා නානත්තේ ඤාණං"

විඤ්ඤාණ සිතින් හැසිරීම එකකි. අඤාණ සිතින් හැසිරීම තවත් එකකි. ඤාණ සිතකින් හැසිරීම (චර) තවත් එකකි. මේ හැසිරීම් තුනම යථා පරිදි තමන් තුළින්ම තේරුම් ගෙන ඤාණ චරියාවෙන් හැසිරීම බුද්ධ ඥාණයකි. රාගය, ද්වේෂය, මෝහය සිතින් උදුරා ඉවත් කර සිත පිරිසිදු කර ගන්නට ක්‍රියා කිරීම ඤාණ චරියාවයි. ද්වතාවය දැන, විනයෙහි පිහිටා, ණය නොවී ණයෙන් මිදී නිදහස් වන්නට ක්‍රියා කිරීම චරියා නානත්තේ ඥාණයයි. මෙයද බුද්ධ ඤාණයකි. කෙලෙස් බව උදුරා දමන්නට උපකාර වන දැනුමකි.

චරියා වවත්ථාන යනු තමන් එදිනෙදා හැසිරෙන ආකාරය විමර්ශනය කර එහි ඇති දොස් නිදොස් දැක නිදොස් හැසිරීම තෝරාගෙන ක්‍රියාත්මක වන්නට ඇති හැකියාවයි.

## 18. චතුධම්මවවත්තානේ පඤ්ඤා භූමි නානත්තේ ඤාණං

"චතස්සෝ භූමියා
1. කාමාවචර භූමි
2. චරෑපාවචර භූමි
3. අරෑපාවචර භූමි
4. අපරියාපන්න භූමි"

අනාර්යයන් හැසිරෙන භූමි තුනකි. ඒවා කාමාවචර භූමි රෑපාවචර භූමි හා අරෑපාවචර භූමි නම් වේ. ආර්යයන් හැසිරෙන භූමිය වන්නේ අපරියාපන්න භූමියයි. ආර්ය මාර්ග හා ආර්ය ඵලයන් අපරියාපන්න භූමිවලට අයත්ය. මේ හැසිරීම් රටාව තේරුම් ගත් "චර හා චරණ" යන පදදෙක යථා පරිදි තේරුම් ගත් අරිය ශ්‍රාවකයා භූමි නානත්තේ ඤාණය ලැබුවෙකි. හැසිරීම යනු "චර" බවයි. තමන් හැසිරිය යුත්තේ කුමන මාර්ගයක යාමට දැයි දැන ගෙන අකුසල් භව උදුරා දමන්නට හැසිරීම "චරණ" නම් වෙයි. එය අපරියාපන්න භූමියයි.

## 19. නවධම්ම වවත්ථානේ පඤ්ඤා ධම්මනානත්තේ ඤාණං

කාමාවචර ධම්මයෝ මෙනෙහි කරත්ම සිතේ පවතින කෙලෙස් අස්කරන්නට හෝ අස්නොකරන්නට හෝ එමෙන්ම වෙනසක් නොවන්නටද හේතුවන ධර්ම මෙනෙහි කිරීම් ඇත. (කුසලතෝ වවත්තේති. අකුසලතෝ වවත්තේති. අබ්‍යාකතතෝ වවත්තේති)

රූපාවචර ධර්මයෝ මෙනෙහි කරත්ම කෙලෙස් ප්‍රහාණය කරවා (කුසලතෝ වවත්තේ) එවන් කිසිවක් සිදු නොවන අබ්‍යාකතතෝ වවත්තේති) මෙනෙහි කිරීම් ඇත.

අරූපාවචර ධර්මයෝ මෙනෙහි කිරීමෙන්ද කෙලෙස් ප්‍රහාණය වන (කුසලතෝ වවත්තේති) කුසල් හෝ අකුසල් නොවන (අබ්‍යාකත වවත්තේති) මෙනෙහි කිරීම්ද ඇත. එමෙන්ම අපරියාපන්න ධම්ම මෙනෙහි කිරීමේදී ද (කුසලතෝ වවත්තේති) කෙලෙස් පහව යන හා කෙලෙස් වෙනසක් නොවන (ආබ්‍යාකත වවත්තේති) මෙනෙහි කිරීම් ඇත. මේ නව ආකාර වූ සිත් වෙන් කර වෙනවෙනම දැන හඳුනා ගැනීම නව ධම්ම වවත්ථානේ පඤ්ඤාවයි. එය ධම්මනානත්තේ ඤාණයයි. මෙයද කෙලෙස් භව උදුරා දැමීමට උපකාරක වන නිසා බුද්ධ ඤාණයකි.

20-21-22-23-24

**20. අභිඤ්ඤා පඤ්ඤා ඤාතට්ඨේ ඤාණං**
**21. පරිඤ්ඤා පඤ්ඤා තීරණට්ඨේ ඤාණං**
**22. පහානේ පඤ්ඤා පරිච්චාගට්ඨේ ඤාණං**
**23. භාවනා පඤ්ඤා ඒකරසට්ඨේ ඤාණං**
**24. සාච්ඡිකිරියා පඤ්ඤා ඵුසනට්ඨේ ඤාණං**

"යේ යේ ධම්මේ අභිඤ්ඤාතා හොන්ති තේ තේ ධම්මා ඤාතං

හොන්ති" යම් යම් ධර්මයක් යථාභූත ඥාණායෙන් මෙනෙහි කරයිද, ඒ ඒ ධර්මයන් පිළිබඳ උසස් දැනුමක් පූර්ණ වෙයි. දැක්මට උපකාරක දැනුම අභිඤ්ඤාණයි.

"යේ යේ ධම්මා පරිඤ්ඤාතාහොන්ති, තේ තේ ධම්මා තීරිකා හොන්තී" යම් යම් ධර්මයක් පිළිබඳව ප්‍රිය, අප්‍රිය සිඳ (පිරිසිඳ) උපේක්ඛා සිතින් දකින්නට හැකිවෙයිද එය තීරණ පරිඤ්ඤා ඥාණයයි. ප්‍රහාණය කල යුතු දෑ සහ භාවිතා කල යුතුදේ තීරණය කරයි.

"යේ යේ ධම්මා පහීනා හොන්තී, තේ තේ ධම්මා පරිච්චතා හොන්ති" යම් යම් ධර්මයක් කෙලෙස් ලෙස දැක ප්‍රහාණය කරයිද? ඒ ඒ ධර්මයන් අත්හැරී සිත නිදහස් වෙයි. (චාගෝ)

"යේ යේ ධම්මා භාවිතා හොන්ති, තේ තේ ධම්මා ඒකරසා හොන්ති" යම් යම් යහපත් ධර්මයක් භාවිතා කලේද ඒ ඒ භාවිතා කිරීම මගින් හිත ඒකග්ගතා තාවයට පත්වී සිරිසිදුවේ.

"යේ යේ ධම්මා සච්ජිකතා හොන්ති, තේ තේ ධම්මා ඵුසිතා හොන්ති. යම් යම් ධර්මයක් ක්ෂාත් ක්ෂාත් කරගත්තේද ඒ ඒ ධර්මයන් සිත ප්‍රසන්න බවට පත් කරයි. (ඒතං සංතං ඒතං පනීතං)

මෙම බුද්ධ ඤාණයෝ පහම චතුරාර්ය සත්‍යයන් අවබෝධ කර ගන්නටත්, සීල සමාධි පඤ්ඤා ත්‍රිශික්ඛා පූර්ණ කරගන්නටත් බෙහෙවින්ම උපකාරක වන බුද්ධ ඥාණයන් වෙනි. මෙයම ආනාපාන සතිය වැඩීම, සතර සති පට්ඨානය වැඩීම, භාවනා කිරීම, ලෙසින් ද පෙන්වා දිය හැකිය.

25-26-27-28

## 25. අත්ථනානත්තේ පඤ්ඤා අත්ථපටිසම්භිදෙ ඤාණං

## 26. ධම්ම නානත්තේ පඤ්ඤා ධම්මපටිසම්භිදෙ ඤාණං
## 27. නිරුක්තිනානත්තේ පඤ්ඤා නිරුක්තිපටිසම්භිදෙ ඤාණං
## 28. පටිභානනානත්තේ පඤ්ඤාපටිභානපටිසම්භිදෙ ඤාණං

පංච ඉන්ද්‍රියයන්, පංච බල ධර්මයන්, සත්තබොජ්ජංග හා සම්මා අංග අට (අරි අට මග) පිළිබඳව මෙන්ම පටිච්චසමුප්පාද ධර්මය, චතුරාර්ය සත්‍යයන් හා කෙලෙස් "භව" උදුරා දැමීමේ ක්‍රියාවලිය පිළිබඳව අත්ථ නානාත්වය, ධර්ම නානත්වය, නිරුක්ති නානත්වය හා පටිභාන පටිසම්භිදා නානාත්වය විග්‍රහ කරමින් කෙලෙස් ගති සහ මුලින්ම උදුරා ඉවත් කර දමන්නට උපකාරක ලෙසින්ම බුද්ධ දේශනාව ඉදිරිපත් කිරීමේ ශක්තිය, හැකියාව සිව්පිළිසිඹියාපත් ඥාණ හෙවත් පටිසම්භිදා ඥාණයන් හතර හැටියට පෙන්වා දෙයි.

මෙසේ අත්ථ, ධම්ම, නිරුක්ති, පටිභාන නානත්වය විග්‍රහ කළ යුත්තේ ලෝකයක් හදන්නට උපකාරක වන ලෞකික අර්ථයෙන් හෝ ලොව පවත්වාගෙන යන්නට උපකාරක ධර්මයක් යන සම්මත අර්ථයෙන් හෝ නොවේ. ලෞකික, ලෝකෝත්තර යන අර්ථයන් දෙකම විග්‍රහ කරමිනි. උභය අර්ථ සාධනය සඳහාම උපකාරක වන අයුරිනි. උභතෝ භාග විමුක්තියම ක්ෂාත් ක්ෂාත් කරගන්නට මාර්ග විවෘත කර දෙන්නටය.

"පංච ධම්මේ සංදෙස්සේතුං බ්‍යඤ්ජන නිරුත්තාභිලාපා, පංච අත්ථේ සංදෙස්සේතුං බඤ්ජන නිරුත්තාභිලාපා" ආදී වශයෙන් ව්‍යාංජන නිරුක්ති වශයෙන් සංදේසනාවක් අත්ථ ධම්ම විග්‍රහ කිරීමට මුල් කර ගත් දේසනාවද සිවුපිළිසිඹියා විග්‍රහයේම ඇතුලත්ය.

"සං" බෙදා කොටස්කර විග්‍රහකිරීමත්, ව්‍යංජන, නිරුක්ති ලෙසින් බෙදා ඉදිරිපත් කිරීමටත්, මෙහිදී ඉදිරිපත් කරණ නිසාම මෙම බුද්ධ භාෂිතය "පටිසම්භිදා" ඥාණයන් ලෙසින් නම් කර ඇත. මේ අනුව "අත්ථපටිසම්භිදා ඥාණය ධම්ම පටිසම්භිදා ඤාණය නිරුක්ති පටිසම්භිදා ඤාණය, පටිභාන පටිසම්භදා ඤාණය ලෙසින් මෙම

බුද්ධ ඥාණයන් නම් කර ඇත.

29- 30- 31

**29. විහාරනානත්තේ පඤ්ඤා විහාරට්ඨේ ඥාණං**

**30. සංමාපත්තිනානත්තේ පඤ්ඤා සංමාපත්තට්ඨේ ඥාණං**

**31. විහාර සංමාපත්තිනානත්තේ පඤ්ඤා විහාරසම්මාපත්තට්ඨේ ඥාණං**

මෙහිදී විහාර තුනක්, සංමාපත්ති තුනක් හා විහාර සම්මාපත්ති තුනක් බුද්ධ ඥාණයන් ලෙසින් විග්‍රහ කරයි. අනිමිත්ත විහාර, අප්පණිහිත විහාර, සුඤ්ඤත විහාර යනුවෙන් විහාර තුනකි. අනිමිත්ත සංමාපත්තිය, අප්පණිහිත සම්මා පත්තිය, සුඤ්ඤත සම්මාපත්ති ඥාණයන් තුනක්, අනිමිත්ත විහාර සමාපත්තිය, අප්පණිහිතවිහාර සම්මාපත්තිය සුඤ්ඤතවිහාර සම්මාපත්තිය යනුවෙන් විහාර සම්මාපත්ති ඥාණයන් තුනකි.

"නිමිත්තං භයතෝ සම්පස්සමානෝ, අනිමිත්තේ අධිමුත්තතත්තා ඵුස්ස ඵුස්ස වයං පස්සති, පවත්තං අජකධුපෙක්ඛිත්වා නිරෝධං, නිබ්බානං, අනිමිත්තං ආවජ්ජිත්වා සංමාපජ්ජති. අනිමිත්ත විහාරසංමාපත්ති.

පණිධිං භයතෝ සම්පස්සමානෝ අප්පණිහිතේ අධිමුත්තතත්තා ඵුස්ස වයං පස්සති, පවත්තං අජ්ඣධුපෙක්ඛිත්වා නිරෝධං නිබ්බානං අප්පණිහිතං ආවජ්ජිත්වා සංමාපජ්ජති, අප්පණිහිතං විහාරසම්මාපත්ති.

අභිනිවෙසං භයතෝ සම්පස්සමානෝ සුඤ්ඤතේ අධිමුත්තතත්තා ඵුස්ස ඵුස්ස වයං පස්සති, පවත්තං අජ්ඣධුපෙක්ඛිත්වා නිරෝධං නිබ්බානං සුඤ්ඤතං ආවජ්ත්වා සංමාපජ්ජති සුඤඤතාවිහාර සමාපත්ති."

මෙම විග්‍රහයේ "විහාර" යනුවෙන් බුද්ධ ඥාණයක්ද "සම්මාපත්ති" යනුවෙන් බුද්ධ ඥාණයක්ද විහාරසම්මාපත්ති

යනුවෙන් බුද්ධ ඤාණයක්ද පෙන්වා දී ඇත. "විහාර" යන මාගධී පදයේ අර්ථය (වි+හාර) "වි" යනු කෙලෙස් තෝරා බේරා වෙන් කිරීම යන්නයි. "හාර" යනු අත්හැර මිදී නිදහස් වීම යන ධර්ම අර්ථයයි. සිතක උපදින උපදින (ඵුස්ස ඵුස්ස) කෙලෙස් හව තෝර තෝරා වෙන් කර වෙන්කර කෙලෙස් වලින් මිදී නිදහස් වීමට ක්‍රියා කිරීම "විහාර" යන මාගධී පදයේ තේරුමයි. අපි අද විහාරය යනුවෙන් භාවිතා කරන්නේ මෙසේ කෙලෙස් මුදවා හරින්නට භාවිතා කල ස්ථානයයි.

සම්මාපත්ති (සං+මා+පත්ති) යන පදයේ තේරුම "සං" යනු රාගය, ද්වේෂය, මෝහය යන කෙලෙස් නිසා සසරට සම්බන්ධවීමයි. "මා" යනු මේ කෙලෙස් වලින් (සං වලින්) මිදී නිදහස්වීමයි. කෙලෙස් වලින් මිදී නිදහස් වූ පසුව පත්වන තත්වය "පත්ති" යන පදයෙන් විග්‍රහවෙයි. මේ අනුව "සම්මාපත්ති" යනු සිතේ උපදින රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් (කෙලෙස් වලින්) මිදී සිත නිදහස් කරගත් පසුව ලබන ශුද්ධපවිත්‍ර තත්වයයි. සම්මාපත්ති යනු සිතක උපත ලබන පිරිසිදු ප්‍රභාෂ්වර තත්වයයි. ඒතත්වය දිගටම පවත්වාගෙන යාමයි. විහාර සම්මාපත්තිය යනු මේ අයුරින් පිරිසිදු වූ කෙලෙස් වලින් තොර වූ සිතක් එක දිගටම පවත්වාගෙන යාමයි. මෙම ඤාණයන් තුනම බුද්ධ ඤාණයන් ලෙසින් භාවිතයට ගත යුතුය. මෙය අසා දැන ගැනීම පමණක්ම කිසිසේත්ම ප්‍රමාණවත් නොවේ. සම්මා පත්තීන්ට පත්වීම ප්‍රායෝගික වශයෙන්ම තමන්ම අත් විඳ ගත යුතු එකකි.

## 32. අවික්ඛේපපරිශුද්ධත්තා, ආසවසමුච්ඡේදේ පඤ්ඤා ආනන්තරික සමාධිස්මිං ඤාණං

නෙක්ඛම්ම වශයෙන් චිත්තස්ස ඒකග්ගතා අවික්ඛේපො සමාධි (කාමයෙන් නිදහස් වූ සිත පාපයෙන් අකුසල ක්‍රියාවන්ගෙන් වෙන් වූ සිත නෙක්ඛම්ම සිතයි.) එවන් සිතක් අවික්ඛේප (එනම් වික්ෂිප්ත නොවූ,) නොවිසුරුණු ඒකාග්ගතාවයට පත් වූ සිතකි. මෙවන් ඒකග්ගතාවයට පත් වූ සිතක් සමාධි සිතක් ලෙසින් හඳුන්වයි. මෙවන් සිතක බුද්ධ ඥාණ උපත ලබයි.

"උප්පජ්ජති ඤාණං, තේන ඤාණේන ආසවා ඛීයන්ති" ඉති පඨමං සමථෝ පච්චා ඤාණං, තේන ඤාණේන ආසවානං ඛයෝ හෝති" මෙම අවික්ඛේපපරිශුද්ධතා ආසවසමුච්ඡේදේ පඤ්ඤා ආනන්තරික බුද්ධ ඤාණයයි.

කාමසව, භාවාසව, දිට්ඨිාසව හා අවිජ්ජාසව යන ආසව සියල්ලමක්ඛය කළ යුතුය. (කපා සිඳ දැමිය යුතුය)

සෝතාපත්ති මාර්ගයෙන් දිට්ඨාසව, දිට්ඨානුසය, විචිකිච්චානුසය සහ අපායගාමිනී, කාමාසව, භාවා සව හා අපායගාමිනී, අවිජ්ජා සව කපා සිඳ දමයි. (ආසවෝ ඛීයතී)

සකෘදාගාමී මාර්ගය වැඩීමේදී ඕලාරික කාමාසව හා තදේකට්ඨෝ (තදින්මමුල්බැසගත්) භාවාසවෝ මෙන්ම අවිජ්ජාසවෝද කපා සිඳ දමයි. අනාගාමී මාර්ගය වැඩීමේදී ශේෂයක්වත් ඉතිරි නොවන සේ කාමාසව කපා සිඳ දමයි. ඒවාගේම කදේකට්ඨෝ භාවාසවෝ (ඛීයති) කපා දැමීම කෙරෙයි. අවිජ්ජාසව කොටසක්ද කපා හරියි.

අරහන්ත මාර්ගයේදී අනවසේසා භාවාසවෝ ඛීයති. අනවසේසා අවිජ්ජාසවෝ ඛියති. රූප රාග, අරූප රාග, මාන උද්දච්ච, අවිජ්ජා යන සියලු ආකාර වූ ආසය අනුසය ධර්මයන් සහමුලින්ම කපා සිඳ දමයි. අනවසේසා යනු ශේෂයක්වත් ඉතිරි නොවනසේ කපා දැමීම යන්නයි.

මෙසේ ආසය අනුසය සියල්ල කපා දමා ලබන චිත්ත ඒකග්ගතාවත්, ප්‍රඥාවිමුත්තියත්, මුල්කර ගෙන ලබන සංමාපත්තිය සඤ්ඤා වේදයිත නිරෝධ සම්මාපත්තිය හෙවත් ආනන්තරික සමාධි ඤාණයෙන් ලබන නිබ්බාන සුවයයි.

අධිශ්ඨාන කළ ආකාරයට එක දිගටම අතරක් නැතිවම (අන් අන්තරිකව) සමාපත්තියේ පිහිටා නිවන් සුවය, එනම් ඉහතාත්ම සුඛ විහාරණය අත් විඳින බුද්ධ ඤාණය ආනන්තරික සමාධි ඤාණයයි. මෙය සියලු ආසව අනුසය සහමුලින්ම කපා දැමූ අරහතුන් වහන්සේටම ලබාගත හැකි, අධිශ්ඨාන කරමින් සම්මාපත්තියට සමවැදීමෙන්ම ලබාගත හැකි බුද්ධ ඤාණයකි.

## 33. දස්සනාධිපතෙය්‍යං සන්තෝච විහාරාධිගමෝ පනීත-අධිමුත්තතා පඤ්ඤා අරණ විහාරේ ඤාණං

අනිච්චානු පස්සනා, දුක්ඛානු පස්සනා, අනත්තානු පස්සනා දස්සනාධිපතෙයියයං - රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ ආදී වශයෙන් පංචස්කන්ධය පිළිබඳවම හා පටිච්ච සමුප්පාද ආදී හැම අංගයක් කෙරෙහිම අනිච්ච බව දුක්ඛ බව අනත්ත බව මෙනෙහි කරමින් නිච්ච බව, සුඛ බව, අත්ත බව, ප්‍රහාණය කර සිත ශුද්ධ තත්වයට පත් කර ගැනීම මෙහිදී සිදුකර ගත යුතුය.

අනිමිත්ත, අප්පණිහිත, සුඤ්ඤත සමාපත්ති වලට සමවැදීමෙන් කෙලෙස් සහිත වූ නිමිත්තෙන් මිදී ආමිස සුවයක් විඳීමේ පණිහිත (පිණවීම) තත්වයෙන් වෙන්වී සිත රාගයෙන් සුඤ්ඤ කරගත යුතුය. ද්වේෂයෙන් සුඤ්ඤ කරගත යුතුය. මෝහයෙන් සුඤ්ඤ කරගත යුතුය. එය පණීතාධි මුත්තතා සිතයි. මේ අනුව අරණ විහාර ඤාණය නමැති බුද්ධ ඤාණය ක්ෂාත් ක්ෂාත් කරගත හැකි වෙයි. නීවරණයන් බැහැර (ප්‍රහාණය කිරීම) කිරීම මඟින් සිතේ පවතින නොසන්සුන් බව නැතිකර සන්සුන් සිතක් ඇතිකර ගැනීම මඟින් ධ්‍යාන සමාපත්තියෙහි පිහිටා ක්‍රියා කරන්නට හැකි ශක්තිය (රණබිමෙන් නිදහස් වීම) අරණ විහාර ඤාණයයි. මෙයද කෙලෙස් බව උදුරා දමන්නට උපකාරක බුද්ධ ඥාණයකි.

## 34. ද්විහි බලේහි සමන්නාගතෝ, තයෝ ච සංඛාරානං පටිපස්සද්ධියා, සොළසේහි ඤාණචරියාහි, නවහි සමාධි චරියානි, වසීභවතා පඤ්ඤා නිරෝධසමාපත්තියා ඤාණං

ද්විහි බලේ යනු සමථ විපස්සනා බලයන් දෙකයි, තයෝ ච සංඛාරා යනු වචී සංඛාර, කාය සංඛාර මනෝ සංඛාර යන තුනයි. සොළසෙහි යනු ආසය (16) ආකාර වූ ඥාණ චරියාවයි. නවහි සමාධි චරියා යනු නව පාමොජ්ජකා මුල ධර්මතාවයෝයි. මෙවන් ආකාරවූ සියල්ලෙහි වසීභාවිතාවය යනු කෙලෙස් සහමුලින්ම කපා සිඳ දමා පාරිශුද්ධ තත්වයට සිත පත් කර ගැනීමයි. මෙම කරුණු එකින් එක මීට පෙර විග්‍ර කරණ ලද බුද්ධ ඥාණ වලින් එකින් එක විග්‍රහ කර පෙන්වන ලදී. මෙහිදී සිද්ධ වන්නේ ඒ ඒ බුද්ධ ඥාණයෙන් ලැබු පරිශුද්ධ තත්වය සිතේ පවත්වාගෙන යාම මගින් රෝද නිරෝධ කර සමුදය (සංඛාර) නිරෝධ කර බැම් සිඳ දමා නිබ්බාන තත්වයට සිත පත්කර ගැනීම මගින් නිවන් සුවය, නිරාමිස සුවය ලැබීමයි. මෙය නිරෝධ සම්මාපත්තිය ලෙසින් විග්‍රහ කරණ ලද බුද්ධ ඤාණයයි. ඉන්ද්‍රියයන්ට (චක්ඛු සෝත ආදී) ලැබෙන රූප වේදනා ආදියෙන් යම් වේදනාවක් උපත ලබයි. මේ වේදනාව පිනව පිනවා, විඳව විඳවා හෝ මැන මැන සිටීමෙන් රෝද කිරීම සංඛාර සිතක ස්වභාවයයි. මේ පිනවීමෙන්, විඳවීමෙන්, මැනීමෙන් තොරව නිරෝධ (රෝධ නොකිරීම) උපේක්ඛා සිතක් පැවැත්වීමයි. ඒකග්ගතාවයට පත්වීමයි. බුද්ධ ඥාණයන් උපකාරවන්නේ මේ සඳහාය.

## 35. සම්පජානස්ස පවත්තපරියාදානේ පඤ්ඤා පරිනිබ්බානේ ඤාණං

“ඉධ සම්පජානෝ නෙක්ඛම්මේන කාමච්ඡන්දස්ස පවත්තං පරියාදිති, අබ්‍යාපාදේන බ්‍යාපාදස්ස පවත්තං පරියාදියති, අලෝකසඤ්ඤාය ථීනමිද්දස්ස පවත්තං පරියාදියති, අවික්ඛේපේන උද්ධච්චස්ස පවත්තං පරියාදියති, ධම්මවවත්ථාතේන විචිකිච්චං පවත්තං පරියාදිති. බුද්ධ ඤාණෙන අවිජ්ජාය පවත්තං පරියාදියති, පාමොජ්ජේන අරතියා පවත්තං පරියාදිති, ඣානේන නීවරණං

පවත්තං පරියාදිති. සෝතාපත්ති මග්ගේන, සකෘදාගාමී මග්ගේන අනාගාමී මග්ගේන අරහත්ත මග්ගේන සබ්බ කිලෙස්සානං පවත්තං පරියාදියති. (පරියාදියති යනු පූර්ණ වශයෙන් උදුරා දමා වෙන් වීමයි.)

අථවා පන සම්පජානස්ස අනුපාදිසේසාය නිබ්බාන ධාතුයා පරිනිබ්බානස්ස ඉදංඛෙද්ච්ච චක්ඛු පවත්තං පරියාදියති. පවත්ත පරියාදානේ පඤ්ඤා පරිනිබ්බානේ ඥාණං. සමථ විපස්සනා වශයෙන් පංචකාම නීවරන ධම්මයන් සමථයට පත්කර ගැනීමත්, නිවණ ආවරණය කළ කෙලෙස් ගති පැවැත්වීම සහමුලින්ම උදුරා දමා (පරියාදියති) නැවත කෙලෙස් නොඋපදින ලෙසින්ම සිත පිරිසිදු කර ගැනීමෙනුත් සියලු කෙලෙස් ප්‍රහාණය කිරීමෙනුත් අනුපදිසේස නිබ්බාන සුවයට පත්වීම මෙම බුද්ධ ඥාණයයි. මෙහිදී මෙතෙක් උපාදානය කරගෙන පවත්වාගෙන ගිය පංචස්කන්ධයෙන්ම සහමුලින්ම මිදී නිදහස්වීම හා නැවත පංචස්කන්ධය උපාදානය කරගැනීමෙන් වැළකී සිටීම අනුපදිසේස නිබ්බානයයි. උපධි යනු උපාදානයයි. අනුපදි යනු උපාදානය කරගැනීමෙන්ද වැළකී උපාදානය කරගෙන සිටි සියල්ලම අතහැර මිදී නිදහස් වීමයි.

මෙය අනුපදිසේස නිබ්බාන තත්වයට පත්වීමයි. අරහත් තත්වයටම පත්වීමයි. මෙතෙක් විග්‍රහ කරණ දළ සියලු බුද්ධ ඥාණයන් දැන හෝ නොදැන හෝ සම්පූර්ණ කරගත් සියලුම මගඵල ලාභීන් අරහතුන් වහන්සේලාය.

## 36. සබ්බ ධම්මානං සම්මා සමුච්ජේදේ නිරෝධෙච අනුපට්ඨා-නතා පඤ්ඤා සමසීසට්ඨේ ඥාණං

සබ්බ ධම්ම යනු

1.) පංචස්කන්ධයන්
2.) ද්වාදස ආයතන
3.) අට්ඨාරස ධාතු
4.) කුසලා ධම්මා

5.) අකුසලා ධම්මා
6.) අබ්‍යකථා ධම්මා
7.) කාමාවචර ධම්මා
8.) රූපාවචර ධම්මා
9.) අරූපාවචර ධම්මා
10.) අපරියාපන්න ධම්ම

සම්මා සමුච්ජේදේති යනු "සං" දැක සංවලින් මිදී නිදහස්ව, සමුදය උපදින මුල් කෙලෙස් මුල් සිඳ දමා යලි කෙලෙස් නොඋපදින ලෙසින් භව උදුරා ඉවත් කිරීමයි. නිරෝධෙති යනු රෝධ නොකිරීමයි. අරමුණු දිගේ රෝද කිරීමෙන් රිය ගමන යයි. නිරෝධ කිරීමෙන් අරිය තත්වයට පත් වෙයි. අනුපට්ඨානතා යනු යළි යළිත් අලුතින් කෙලෙස් නොඋපදින ආකාරයටම සිත පිරිසිදු කර ගැනීමයි.

මෙම බුද්ධ ඤාණය සමසීසට්ඨ ඥාණය ලෙසින් නම් කර ඇත.

## 37. පුථුනානත්තේකත්තතේජපරියාදානේ පඤ්ඤා සල්ලේ-ඛට්ඨේ ඤාණං

"රාගෝ පුථු, ද්වේසෝ පුථු, මොහෝ පුථු, සබ්බ භාවගාමී කම්මා පුථු" (පුථු යනු ඒකත්ත නානත්ත ද්වතාවය දැකීමයි.)
කාමච්ඡන්දෝ නානත්තං - නෙක්ඛම්මං ඒකත්තං
ඛ්‍යාපාදෝ නානත්තං - අඛ්‍යාපාදෝ ඒකත්තං
ථිනමිද්ධං නානත්තං - අලෝක සඤ්ඤා ඒකත්තං
සම්බ කෙලේසා නානත්තං - අරහත්ත මග්ගෝ ඒකත්තං
බුද්ධ ඤාණයන් තේජෝ බලය සහිතය
සල්ලේඛ යනු සියලු කෙලෙස් වලින් මිදී නිදහස්වීමයි.
සලේලේඛ ඤාණයද මේ අනුව භවගාමී කම්මයන් එනම් සියලු කෙලෙස් උදුරා ඉවත් කර දමන්නට උපකාරක ධර්මයන්ය.

## 38. අසල්ලීනත්ත පහිතත්තපග්ගහට්ඨේ පඤ්ඤා විරියාරම්හේ ඤාණං

"අනුප්පන්නානං පාපකානං අකුසලානං ධම්මානං අනුප්පා-දාය අසල්ලීනත්තා පහිතත්තා පග්ගහට්ඨේ පඤ්ඤා විරියාරම්හේ ඤාණං" (නූපන් අකුසල් නොඋපදවා සිටීම)
උප්පන්නං පාපකානං අකුසලධම්මානං පහානාය...
අනුප්පන්නානං කුසලානං ධම්මානං උප්පාදාය...
උප්පන්නානං කුසලානං ධම්මානං ඨිතියා අසම්මෝසාය
භියෙ‍්‍යාභාවාය වෙපුල්ලාය භාවනාය පරිපූරියා
අසල්ලීනත්තා පහිතත්තා පග්ගහට්ඨේ පඤ්ඤා
විරියාරම්හේ ඤාණං

නූපන් අකුසල් මතු යළි නොඉපවීමෙන් උපන් අකුසල් ප්‍රහාණය කර සිත නිදහස් කර ගැනීමටත් ,

නූපන් කුසල් සිත් උපදවාගෙන කෙලෙස් ප්‍රහාණය කිරීමටත්, උපන් කුසල් සිත් දිගින් දිගටම පවත්වාගෙන යමින් කෙලෙස් ගති උපුටා දමන්නටත් ක්‍රියා කිරීම විරියාරම්භ ඥාණයයි. මෙයද බුද්ධ ඤාණයකි. මෙයම සතර ඉද්ධිපාද සම්පූර්ණ කරගැනීමෙන් ලබන බුද්ධ ඤාණයයි.

## 39. නානා ධම්මපකාසනතා පඤ්ඤා අත්තසංදස්සන ඤාණං

## 40. සබ්බ ධම්මානං ඒකසංඞහතා නානත්තේකත්ත පටිවේධෙ පඤ්ඤා දස්සන විශුද්ධි ඤාණං

පංචස්කන්ධ, ද්වාදසායතනානි, අට්ඨරස ධාතු ආදී සියලු ආකාර වූ ධම්මයන් අනිච්චසේ, දුක්ඛ සේ අනත්ත සේ ප්‍රකාශ කිරීමට, දැකගැනීමට ඇති හැකියාව, අවබෝධය අත්ත සංදස්සන ඥාණයයි. එහි දැක්ම, දර්ශන විශුද්ධියයි. මෙම දර්ශණ විශුද්ධිය සතර මාර්ගයේදීම හා සතර ඵලයන්හිදීම ශුද්ධ පවිත්‍ර වේ. ඒ අනුව

චතුරාර්ය සත්‍යයන් පිළිබඳව තිබූ දැනුම, දැක්මක් බවට පත්වී ප්‍රත්‍යක්ෂවෙයි. නානත්වය තුළින් ඒකත්වය දැකීම මෙම විශුද්ධි ඤාණයයි. නානත්වය රොද ගැසීමයි. ඒකත්වය නිරෝධයයි.

**41. විදිතත්තා පඤ්ඤා ඛන්ති ඤාණං**

රූපං අනිච්චතෝ විදිතං රූපං දුක්ඛතෝ විදිතං, රූපං අනත්තතෝ විදිතං, යං යං විදිතං තං තං ඛමතීති විදිතත්තා පඤ්ඤා ඛන්තී ඤාණං වේදනා, සංඥා, සංඛාරා, විඤ්ඤාණ, චක්ඛු, සෝත ඝාණ ආදී සියලු අංගයන් පිළිබඳව ත්‍රිලක්ඛණය යථාපරිදි මෙනෙහි කර යථාභූත ඥාණය මගින් සත්‍යාවබෝධය ලැබීම ඛන්ති ඤාණයයි.

**42. ඵුට්ඨත්තා පඤ්ඤා පරියෝගාහන ඤාණං**

අනිච්ච, දුක්ඛ, අනත්ත ආදී ත්‍රිලක්ඛණය මගින් නිච්ච, සුඛ, අත්ත, ප්‍රහාණය කිරීමේ ශක්තිය ප්‍රඥාව පරියෝගාහන ඤාණයයි.

**43. සමෝදහනේ පඤ්ඤා පදේසවිහාරේ ඤාණං,** මිච්ඡා දිට්ඨි - සම්මා දිට්ඨි, මිච්ඡා සංකප්ප - සම්මා සංකප්ප ආදී වශයෙන් ආර්ය අෂ්ඨාංගික මාර්ගයෙහි එන සියලුම අංගයන් පිළිබඳව ද්වතාවය මෙනෙහි කර ඊට හේතු වූ ප්‍රත්‍ය වූ ඡන්දය (කැමැත්ත) විතක්කයන් හා සඤ්ඤාවන් පිළිබඳව ද්වතාවය මෙනෙහි කරන්නට ඇති හැකියාව සහ වේදනාව විමසා ක්‍රියාකර සැනසීම ලබා ගැනීම පදේසවිහාරේ ඤාණයයි.

44-49 විවට්ටේ ඥාණයන් හයකි.

1.) ආධිපත්තා පඤ්ඤා සඤ්ඤාවිවට්ටේ ඤාණං
2.) නානත්තේ පඤ්ඤා චේතෝවිවට්ටේ ඤාණං
3.) අධිට්ඨානේ පඤ්ඤා චිත්ත විවට්ටේ ඤාණං
4.) සුඤ්ඤතේ පඤ්ඤා ඤාණං විවට්ටේ ඤාණං
5.) වොස්සග්ගේ පඤ්ඤා විමොක්ඛ විවට්ටේ ඤාණං

6.) තඨට්ඨේ පඤ්ඤා සච්චවිවට්ටේ ඤාණං

විවට්ට යනු පංචස්කන්ධය එකතුකර (සංඛාර කරමින්) උපාදානය කර සකස් කර ගත් සංවට්ටය, සංසාර වටය තේරුම් ගෙන මෙම සංසාර වට්ටයෙන් මිදී නිදහස්වන්නට අවශ්‍ය ක්‍රියා මාර්ගයන් අනුගමනය කිරීම විවට්ටේ ඤාණයයි. සංවට්ටයෙන් සංසාර වට්ටයෙන් මිදී නිදහස් වීම විවට්ට තත්වයට පත්වීමයි.

සඤ්ඤා විවට්ට, චේතෝවිවට්ට, චිත්තවිවට්ට විමොක්ඛ-විවට්ට, සච්ච විවට්ට යන හය ආකාරයකියන්ම ක්‍රියාකර මෙම සාදා සකස් කරගත් සංසාර වටයෙන් මිදී නිදහස් විය යුතුය. මේ හයම එකිනෙකට සම්බන්ධය.

1. කාමච්ඡන්දය, ව්‍යාපාදය, ථිනමිද්ධ, උද්දච්ච කුක්කුච්ච, විචිකිච්චිතා යන පංචකාම නීවරණ ධර්මයන් නිසා නිවන ආවරණ කර නිවන වසා සංසාර වටයක් සකස් කරණ බව යථා පරිදි දැන, දැක - සංජානනය වන ආකාරය (සම්බන්ධය උපත ලබන ආකාරය) දැක ඉන් මිදී නිදහස් වීමට කටයුතු කිරීම සඤ්ඤා විවට්ටේ ඤාණයයි. "සඤ්ජානනත්තෝ විවට්ටතීති සඤ්ඤා විවට්ටෝ ඤාණං"
2. චේතයන්තෝ විවට්ටතීති චේතෝවිවට්ට ඤාණං කාමච්ඡන්ද ආදී පංචකාම නීවරණයන් දිගේ යලි යලිත් සිතින් රෝද ගැසීම ( සංඛාර කිරීම) නිසා චේතෝ වටයක් සකස්වන බව දැක ඉන් මිදී නිදහස් වන්නට නිරෝධ ගාමිණී මග අනුගමනය කිරීම.
3. විජානනත්තෝ විවට්ටතීති, චිත්ත විවට්ටෝ ඤාණං කාමච්ඡන්දය ආදී නීවරණ ධර්මයන් යලි යලිත් ජනිත වන අයුරු දැක ඉන් මිදී නිදහස්වීම විජානනයයි. චිත්ත විවට්ටයයි.
4. ඤාණං කරොන්තෝ විවට්ටතීති ඤාණ විවට්ටේ ඤාණං කරණීය ධර්ම දැන (නෙක්ඛම්ම, අව්‍යාපාද, අලෝකසඤ්ඤා, ධම්ම වවත්තේන ආදිය) ඒවා අනුගමනය කිරීම ඤාණ

විවට්ටේ ඤාණයයි.

5. වොස්සජ්ජන්තෝ විවට්ටතීති විමොක්ඛ විවට්ටේ ඤාණං වොස්සග්ග පරිනාමී තත්වයෙන් සිත පිරිසිදු කර ගැනීම විමොක්ඛ විවට්ටේ ඤාණයයි.
6. තථට්ටේ විවට්ටතීති සච්චවිවට්ටේ ඤාණං, චතුරාර්ය සත්‍යයන් යථා පරිදි අවබෝධ කරගැනීම සච්ච විවට්ටේ ඤාණයයි. චතුරාර්ය සත්‍යයන් අවබෝධයත් සමගම පංචකාම නීවරණ ධර්ම වලින්, පංචස්කන්ද උපාදානයෙන් වටවී සැකසී පවත්වාගෙන ගිය සංසාර වටය කපා දමා නිදහස් වෙයි.

## 50. කායම්පි, චිත්තම්පි, ඒක වවත්ථානතා, සුඛසඤ්ඤාඤ්ච, ලහු සඤ්ඤඤ්ච, අධිට්ඨාන වශයෙන් ඉජ්ඣනට්ඨේ පඤ්ඤා, ඉද්ධිවිධෙ ඤාණං

මෙය ඉද්ධිවිධ නැමති, ඉර්ධි ප්‍රාතිහාර්යයන් පෑමට උපකාරවන බුද්ධ ඤාණයකි. චංද සමාධි, විරිය සමාධි, චිත්ත සමාධි, විමංසා සමාධි යන සමාධි සතරම උපකාර කරගෙන (සමාධි පධාන සංඛාර සමන්නාගතං ඉද්ධිපාදං භවෙති) යන ආකාරයට ඉද්ධිපාද වඩා භාවනාකර කාය වශයෙන් හා චිත්ත වශයෙන් අධිශ්ඨාන කර චිත්තපාරිශුද්ධ තාවයෙන් යුතුව අභිඥා ලැබීම ඉද්ධිවිධ ඤාණයයි.

මෙම සතර ඉද්ධිපාදයන් බහුල කොට වඩත්ම "කම්මනීයං කායම්පි චිත්තේ සමෝදහති, චිත්තම්පි කායේ සමෝදහති, කාය වසයේන චිත්තං පරිනාමෙත්වා, චිත්තං වසයේන කායම්පි පරිනාමෙත්වා, කාය වසයෙන චිත්තං අධිට්ඨාති, චිත්ත වසයෙන් කායං අධිට්ඨාති" මේ ආකාරයට යථා පරිදි භාවිතයට ගත් සිත පිරිසිදු වෙයි. සැහැල්ලු වෙයි. (පරිශුද්ධෙන, පරියෝදාතේන) ඉද්ධිවිධ ඤාණං අභිනීහරති. අභිනින්නාමෙති. මේ අනුව අභිඤ්ඤා ශක්තිය හා චේතෝ විමුක්තිය ලබා ඉද්ධිවිධ ඤාණයන් ලැබීමද බුද්ධ ඤාණයකි.

## 51. විතක්ක විප්පාර වසයෙන නානත්තේකත්ත සද්ධා නිමිත්තානං පරියෝගාහනේ පඤ්ඤා සෝතධාතු විශුද්ධි ඤාණං

ඉද්ධිවිධ ඤාණය ලබාගත් පසුව තවදුරටත් චන්ද සමාධි, විරිය සමාධි, චිත්ත සමාධි, විමංසා සමාධි වඩා සිත පිරිසිදු කරගෙන, චේතෝවිමුක්තියට පත්වූ පසුව සද්ධ නිමිත්ත හා සම්බන්ධව යෝනිසෝ මනසිකාරයෙන් මෙනෙහි කර යථා පරිදි භාවිත සිතක් බවට පුරුදු කරගත් පසුව සෝතධාතු විශුද්ධි ඥාණය ලැබෙයි. මෙය දිව කන (දිබ්බ සෝතධාතු) ලැබීමයි. මෙයද අභිඥාවලටම අයත් එක් බුද්ධ ඤාණයකි.

## 52. තිණ්ණං චිත්තානං විප්ඵාරත්තා ඉන්ද්‍රියානං පසාදවසයෙන නානත්තකත්ත විඤ්ඤාණචරියා පරියෝගාහනේ පඤ්ඤා චේතෝපරිය ඤාණං

කලින් විස්තර කළ ඉද්ධිවිධ ඤාණය හා සෝතධාතු විශුද්ධි ඤාණය හා සමගම මෙම ඤාණයද ලැබෙයි. මේ සඳහාද පෙර පරිදිම චංද සමාධි, විරිය සමාධි, චිත්ත සමාධි හා විමංසා සමාධි වඩා චේතෝ විමුක්තිය සම්පූර්ණ කරගත් පසුව මෙම බුද්ධ ඤාණය ලබයි. මෙය සෝමනස්ස ඉන්ද්‍රිය හා දෝමනස්ස ඉන්ද්‍රිය හා සම්බන්ධ දැකීමකි. මෙය උපේක්ඛා ඉන්ද්‍රිය මතුවීමකියි යථා පරිදි දැක ගනී. මේ අනුව පර පුද්ගලයින්ට පර සත්තයින් ගේ සිත කියවීමට ශක්තිය ලැබෙයි. සරාගී සිත සරාගී සතයි දැනගනී. විරාගී සිත විරාගී යැයි දැනගනී. සදෝසං චිත්තං සදෝසං චිත්තය යැයි දැනගනී. වීතදෝසං චිත්තං වීතදෝසං චිත්තය යැයි දැනගනී. සමෝහ චිත්තය මෝහ චිත්තය යැයි දැන ගනී. වීත මෝහං චිත්තය වීතමෝහි ලෙසින් දැනගනී. මේ ආකාරයට සිතේ විවිධ පැතිකඩයන් ද්වතාවයක් සහිතව දැකීම චේතෝපරිය ඤාණයයි. මෙයද බුද්ධ ඤාණයකි.

## 53. පච්චයපවත්තානං ධම්මානං නානාත්තේකත්තකම්ම විප්පාරවසේන පරියෝගාහනේ පඤ්ඤා පුබ්බේනිවාසානුස්සති ඤාණං (ත්‍රිවිද්‍යා ඤාණ)

පච්චය පවත්තානං යනු පටිච්ච සමුප්පාද ධර්මය නම් වූ හේතුපල ධර්මයයි. හේතුපල ධර්මයේ තිපරිවට්ටයටම දැක, යථා පරිදි අවබෝධ කරගෙන, නානත්ත ඒකත්ත කම්ම විභංග විග්‍රහය යථා පරිදි තේරුම් ගෙන, හේතුපල පරම්පරාවක් දිගේ අතීතය ආවර්ජනය කරන්නට හැකි ශක්තියක් ලැබීම, පරිශුද්ධ තත්වයට පත්කර ගැනීම පුබ්බේ නිවාසානුස්සති ඤාණයයි. "අනේකේහි සංවට්ට කප්පේ, අනේකේහි විවට්ටකප්පේ, අනේකේහි සංවට්ට විවට්ට කප්පේ, අමුත්‍රාසිං ඒවන්නාමෝ, ඒවං ගොත්තෝ ඒවං වණ්ණෝ, ඒවමාහාරෝ, ඒවය සුඛ දුක්ඛ පටිසංවේදී ඒවමායුපරියන්තෝ, සෝ තතෝ චුතෝ ඉධුපපන්නෝති, ඉතිසාකාරං උද්දේසං අනේකවිහිතං පුබ්බේ නිවාසං අනුස්සරති". හේතුපල පරම්පරාවක් දිගේම අතීතය ආවර්ජනය කරමින් සංසාර වට්ටය සකස්කරගත් අයුරු ඒ සංසාර වට්ට විනාශවී ගිය අයුරු අසවල් අසවල් තැන්වල මෙනම් ඇතිව ගෝත්‍ර ඇතිව මෙවන් ජාතිවල රටවල මෙවන් ආයුෂ ඇතිව මෙවන් රජසැප වින්දහ, අපාදුක් වින්දහ. මෙවන් පිංකම් කළහ. මෙවන් පව්කම් කළහ. මෙවන් අතීත බුදුවරුන් දැකගත්හ. මෙවන් බන ඇසුහ. ආදී වශයෙන් ආවර්ජනා කරන්නට ශක්තිය ලැබීම පුබ්බේ නිවාසානුස්සති ඤාණයයි.

මෙම බුද්ධ ඤාණය ත්‍රිවිද්‍යා ඤාණවලින් මුල්ම ඤාණයයි. පටිච්චසමුප්පාද ධර්මය යථාපරිදි අවබෝධ කරගත් තරමට, හේතුපල පරම්පරාව දිගේ ආවර්ජනය කරන්නට ශක්තිය ලබාගත් තරමට මෙම බුද්ධ ඤාණයේ ශක්තියද බලවත් වෙයි.

## 54. ඕභාසවසෙන නානත්තේකත්තරූපනිමිත්තානං දස්සනට්ඨේ පඤ්ඤා දිබ්බචක්ඛු ඤාණං

දිබ්බචක්ඛු (දිවැස් ඇති බව) හෙවත් චුතිඋපත පිළිබඳ ඤාණය

ත්‍රිවිද්‍යා ඥාණ අතරින් දෙවැන්නයි.

ප්‍රභාස්වරවූ සිතින් ඒ ඒ පුද්ගලයින්ගේ, සත්වයින්ගේ, දෙවිබඹුන්ගේ භූත පේතයින්ගේ චුතිය හා උපත හේතුපල පරම්පරාවක් තුලින් දිවැසින් දැකීම චුතූපපාත ඥාණයයි. (තමන් ගේ හා බාහිර පුද්ගලයින්ගේ) වචී දුෂ්චරිතයෙන්, කාය දුෂ්චරිතයෙන්, මනෝ දුෂ්චරිතයෙන් නොයෙකුත් වැරදි ක්‍රියා කළ පුද්ගලයින්, ආර්යෝපාදයන් කළ පුද්ගලයින්, මිච්ඡාදෘෂ්ඨියෙන් ක්‍රියා කළ පුද්ගලයින්ට අපාගත වන්නට සිදුවූ අයුරු, රජකම් කරමින්, සැප විඳිමින් අයුතු අසාධාරණ කම් කළ රජවරුන්ට අපාදුක් විඳින්නට වූ අයුරු තම තමන්ගේම අතීතය මෙනෙහි කිරීමෙනුත් සත්‍ය වශයෙන්ම දැකගන්නට ලැබෙන ඥාණය දිබ්බචක්ඛු ඥාණයයි. මෙයද බුද්ධ ඥාණයකි. දිබ්බ චක්ඛු ඥාණය ලබාගන්නට නම් පූර්වගාමීව පුබ්බේ නිවාසානුස්සති ඥාණය ලැබිය යුතුමය.

## 55. චතුසට්ඨියා ආකාරේහි තිණ්නං ඉන්ද්‍රියානං වසීභාවනා පඤ්ඤා ආසවානංඛයේ ඤාණං

චතුසට්ඨියා යනු හැට හතර ආකාරයකින් යන තේරුමයි. (64) තිණ්ණං ඉන්ද්‍රියානං වසීභාවතා යනු බුද්ධ දේසනාවෙහි පෙන්වා වදාල ත්‍රිවිද්‍යා පරිපූරණයට අනිවාර්යයෙන්ම උපකාරක වන, මිනිසෙකුගේ අධ්‍යාත්මය තුලින්ම පහදාගත හැකි, උපදවාගත යුතු ඉන්ද්‍රියයන් තුනකි. ඒවා නම්

1. අනඤ්ඤතඤ්ඤස්සාමිති ඉන්ද්‍රිය
2. අඤ්ඤඉන්ද්‍රිය
3. අඤ්ඤාතාවිඉන්ද්‍රිය යන තුනයි.

මේ ඉන්ද්‍රියයන් තුනම කෙලෙස් ප්‍රහාරණය කර, අස්කර උදුරා ගලවා දමන්නටම උපකාරවන නිසා ඒවා වසීභාවතා යනුවෙන් නම්කර ඇත.

ආසවානං ඛයේ ඥාණං යනු ආසය, අනුසය යලි මතු සිතේ නොඋපදින ආකාරයෙන්ම කෙලෙස් මුල් සිඳ කපා දැමීමයි. "ඛය" යනු

කපාදැමීම, සිඳ දැමීම, යන අර්ථයයි.

සෝතාපත්ති මාර්ගයේ දී කැපිය යුතු කෙලෙස් කපා දැමීමට මෙයින් පළමුවන ඉන්ද්‍රිය වූ අනඤ්ඤතඤ්ඤස්සාමීති ඉන්ද්‍රිය භාවිතා කළ යුතුය. ඉන්ද්‍රියයක් යනු යමක් පිරිසිදු කර, පෙරා තෝරා බේරා යහපත් දේ භාවිතයට ගන්නටත්, අපිරිසිදු දේ බැහැර කරන්නටත් ඇතිවන ශක්තියකි.

සද්ධා ඉන්ද්‍රිය, විරිය ඉන්ද්‍රිය, සති ඉන්ද්‍රිය, සමාධි ඉන්ද්‍රි හා පඤ්ඤා ඉන්ද්‍රිය යන ඉන්ද්‍රියයන් බලගැන්වීමෙන් පසුව ඒ අනුගමනය කිරීමෙන්ම, පංච ඉන්ද්‍රියයන් හා බලයන් භාවිතයෙන්ම සෝතාමග්ගක්ඛණ ඉන්ද්‍රියවූ මෙම පළමුවන ඉන්ද්‍රියය ක්‍රියාත්මක වෙයි.

පුබ්බේ නිවාසානුස්සති ඤාණය හා චුතූපපාද ඤාණයද අනුපූරක ලෙසින් මෙම ඉන්ද්‍රියයන් තුන උපදා පහදා ගැනීමට බෙහෙවින්ම උපකාර වෙයි. වෙනත් වචනවලින් පැවසුවොත් ආසවක්ඛයේ ඤාණය ලබාගැනීමට පුබ්බේ නිවාසානුස්සති ඤාණය හා චුතුපපාද ඤාණය අනිවාර්යයෙන්ම අනුපුබ්බංගම ලෙසින්ම උපකාර වෙයි. මෙහි සඳහන් කරණ ලද ආසය අනුසය කපා දමන්නට උපකාරක වන ඤාණයන් හැටහතරෙන් අටක් සෝතාපත්ති මාර්ගයේදී සම්පූර්ණ වෙයි.

සෝතාපත්ති මාර්ගයේදී සමුඨ්ඨාන වශයෙන්ම, උපන් උපන් කෙලෙස් උදුරා දමන්නටම, සබ්බේව කුසලා හොන්ති, සබ්බේව අනාසවා හොන්ති, සබ්බේව නියයානිකා හෝන්ති, සබ්බේව අනාසවා හොන්ති, සබ්බේව නියයානිකා හෝනිත, සබ්බේව අපචය ගාමී හෝන්ති, සබ්බේව ලෝකුත්තරා හොන්තී, සබ්බේව නිබ්බානාරම්මනාහොන්තී. මෙම කරුණු අටෙන්ම සිතක උපතලබන (ජාතා ධම්මා) සියල්ලම සහමුලින් ම කපා උදුරා දමන ක්‍රියාවලින් ක්‍රියාත්මක වන බුද්ධ ඤාණයන්හි උපරිම ශක්තියක් ලැබෙන උපකාරක ධර්ම අටක් ක්‍රියාත්මක වෙයි. මෙම උපකාරක ධර්ම

අටනම්,

1. සද්ධි ඉන්ද්‍රියා අධිමොක්ඛ පරිවාරා - සහජාත පරිවාරාහොන්ති
2. විරිය ඉන්ද්‍රියා පග්ගහපරිවාරා - අඤ්ඤමඤ්ඤ පරිවාරා හොන්ති
3. සති ඉන්ද්‍රියා උපට්ඨානපරිවාරා - නිශ්සය පරිවාරා හොන්ති
4. සමාධි ඉන්ද්‍රියා අවික්ඛේප පරිවාරා - සංපයුක්ත පරිවාරා හොන්ති
5. පඤ්ඤ ඉන්ද්‍රියා දස්සන පරිවාරං - සහගතා හොන්ති
6. මනීන්ද්‍රියා විජානන පරිවාරං - සහජාතා හොන්ති
7. සෝමනස්සි ඉන්ද්‍රියං අභිසංදන පරිවාරං - සංසට්ඨා හොන්ති
8. ජීවිති ඉන්ද්‍රියං පවත්තසංතතාධිපත්තෙය්‍ය පරිවාරං - සම්පයුත්තාහොන්ති

මෙම ආකාරයෙන්ම සෝතාපත්ති ආදී මාර්ග හතරේදීමත් සෝතාපන්න පල ආදී පල හතරේදීමත් අට ආකාරයකින් ආසය අනුසය මුලින් කපා උදුරා දැමීමක් සිදුවෙයි. ඒ සඳහා ඉන්ද්‍රියයන් අටක් (ඉහත සඳහන් පරිදි) අට ආකාරයකින් (පරිවාරං) උපකාරක වීමෙන් අට ආකාරයකින්ම කෙලෙස් මුල් ආසය අනුසය උපත ලැබීම වලකාලයි. යලි නොඋපදින ලෙසින්ම කෙලෙස් බැම් කපා දමයි.

මේ අනුව සෝතාපත්ති මාර්ගයේ දී දිට්ඨාසව අනවසේස වශයෙන් (සේසයකුදු ඉතිරි නොවනසේ) කපා දමයි. සකෘදාගාමී මාර්ගයේදී ඕලාරික කාමාසව කපා දමයි. අනාගාමී මාර්ගයේදී කාමාසව සහමුලින්ම කපා දමයි. භවාසව අවිජ්ජාසව යන ආසව තුනී කර කැපීමට පහසු කරයි. අරහත්ත මාර්ගයේදී භවාසව අවිජ්ජාසව සහමුලින්ම කපා ඉවත්කර යලි කිසිම ආකාරයකින් ආසව අනුසය උපදින්නට නොහැකි ආකාරයට සිත පිරිසිදු කරගනී.

56, 57, 58, 59, 60, 61, 62, 63

### 56. පරිඤ්ඤ අට්ඨේ පඤ්ඤා දුක්ඛෙ ඤාණං

දුක පැවැත්ම හා හේතුපල ධර්ම පිරි අපිරි දෙකම සිඳ (පිරිසිඳ) දැකගන්නා අර්ථයෙන් අරිය තත්වයට පත්වීම දුක්ඛේ ඤාණයයි.

දුකයනු,

1. පීලන අර්ථයෙන්, දුක් පීඩාවලින් පෙලෙන මානසික කායික පීඩනයට පත් කරණ,
2. සංඛත අර්ථයෙන්, දුක සකස්කර ක්‍රියාත්මක කරණ දෙයකි යන අර්ථයෙන්
3. සන්තාප අර්ථයෙන් (දුක් සුසුම් සෝ තැවුල් උපදවා තවන අර්ථයෙන්)
4. විපරිනාම අර්ථයෙන් (පවතින තත්වය නිරන්තරයෙන්ම වෙනස් වන) නිසා දුක නමැති ඵලය සිතක උපත ලබන බව පිරිසිඳ දැකගත යුතුය. මේ කාරණා හතර මුල්කර දුක් විඳවයි. පිරිසිඳ දකින්නට පුරුදුවීම දුක්ඛේ ඥාණයයි.

## 57. පහානට්ඨේ පඤ්ඤා සමුදයේ ඤාණං (සංසාර සම්බන්ධය )

උපත ලබන ආකාරය දැක - සමුදය දැක සම්බන්ධය සිදුවන අයුරු දැක එය ප්‍රහාණය කරන්නට උපකාර වන ධර්ම මාර්ගය අනුගමනය කිරීම සමුදයේ ඤාණයයි.

සමුදය යනු

1. ආයුහනට්ඨෝ (සසර දික්කරණ) සසර දික් කරන්නට නිධාන හේතුවක් වන
2. නිදානට්ඨෝ දස සංයෝගයන් සකස් කර සසරට බැඳ තබන
3. (සඤ්ඤගට්ඨෝ)
4. (පලිබෝධට්ඨෝ) සියලු බාධක දුක් කම්කටොලු උපදන්නට හේතුව පලිබෝධයක් අයුරින් දැක ගත යුතුය. මේ නිසාම සමුදය ප්‍රහාණය කළයුතු බැහැර කළයුතු දෙයක් ලෙසින් දැක ගැනීම සමුදයේ ඤාණයයි.

## 58. සච්ජිකිරියට්ඨේ පඤ්ඤා නිරෝධෙ ඤාණං

නිරෝධ යනු රෝද කිරීම නැවැත්වීම යන අර්ථයෙන් දැනගත යුතුය. සිතින් රෝද කිරීම යනු චිත්ත විථි දිගේ යම් යම් අරමුණු දිගේ රවුම් ගැසීමයි. රවුම් ගසන තුරා සංඛාර ශක්තියක් උපදී. ඒ

විඤ්ඤාණ ශක්තියයි. කෙලෙස් ශක්තියයි. භව ශක්තියයි. (සංභවං = සමුදය = සංභූතං) මේ ශක්තිය නොඋපදවන්නට නම් අරමුණු දිගේ රෝද නොගසා රවුම් නොගසා නිරෝධ කළ යුතුය.

1. නිස්සරණට්ඨෝ නිරෝධස්ස - චර (සර) නොකරණ අර්ථයෙන්
2. විවේකට්ඨෝ - ක්‍රියාවේ වේගයෙන් වෙන්වීමේ අර්ථයෙන් (විවේකාය)
3. අසංඛතට්ඨෝ - සංඛාර නොකර සංඛත සකස් නොකිරීමේ අර්ථයෙන්
4. සච්ජිකිරියට්ඨෝ - ඇති තතු යථාපරිදි ක්‍ෂාත් ක්‍ෂාත් කර ගන්නා අර්ථයෙන් සමුදය නිරෝධ කිරීම නිරෝධෙ ඤාණයයි. “යං කිංචි සමුදය ධම්මං, සබ්බත්තං නිරෝධ ධම්මං” කීවේ මේ ධර්මතාවයයි.

## 59. භාවනට්ඨෙ පඤ්ඤා මග්ගේ ඤාණං

සෝතාපන්න ආදී මගපලයන් ලබන්නට උපකාරක වන බුද්ධ ඤාණය මග්ගේ ඤාණයයි. මෙය භාවනාමයේ පඤ්ඤා යනුවෙන් පෙන්වයි. භාවනාව යනු භාවිතා කිරීමයි. සිත පිරිසිදු වන කෙලෙස් කපා මිදී නිදහස් වන, කෙලෙස් ගති ඉවත් කරණ, රාගය ද්වේෂය මෝහය සිතින් කපා ඉවත් කරණ, ක්‍රියාමාර්ග භාවිතා කිරීම භාවනාවයි. ඒවාගේම සිත පිරිසිදු වන සිත මිදී නිදහස්වන නික්කෙලෙස් ධර්මයන් භාවිතා කිරීමද භාවනාවයි. මෙය ආනපාන සති භාවනාවයි. (හුස්ම ගැනීම පිටකිරීම මෙහිදී අදහස් නොකරයි.)

1. නියයානට්ඨෝ
2. හේතුට්ඨෝ
3. දස්සනට්ඨෝ
4. ආධිපතෙයියට්ඨෝ භාවනා අර්ථයයි.

සසර ගමනට හේතුන් දැක හේතු වලින් මිදී නිදහස් වන භාවනාව භාවිතා කිරීම ආනා පානා සතියෙන් සතර සතිපට්ඨානය සම්පූර්ණ කිරීම මග්ගේ ඤාණයයි.

**60-63. දුක්ඛේ ඤාණං**

**61. දුක්ඛ සමුදයේ ඤාණං**

**62. දුක්ඛ නිරෝධෙ ඤාණං**

**63. දුක්ඛ නිරෝධගාමිනියා පටිපදය ඤාණං**

මෙම ඤාණ හතරම චතුරාර්ය සත්‍යයන් පූර්ණ වශයෙන් දැක නිබ්බානය කෂාත් කෂාත් කරගැනීම ලෙසින්ද පෙන්වා දිය හැකිය. මෙසේ කොටස් හතරකට බෙදා වෙන් කළත් සමුදය, නිරෝධ කිරීම යන්න මෙහි හරයයි. සමුදය දුකට මුලය. දුක සමුදයට නිධාන හේතුවයි. නිරෝධය පිළියමයි. නිරෝධගාමී මාර්ගය දිගටම අනුගමනය කළ යුතු භාවිතා කළයුතු පිළිවෙතයි. සත්තිස් බෝධිපාක්ෂික ධර්මයන්ම යම් ආකාරයකට තේරුම් ගෙන, කෙලෙස් උපදින උපදින තැනදීම, ඒ ඒ අවස්ථාවන්හිදීම, කෙලෙස් කපා සිතින් කෙලෙස් ප්‍රහාණය කරදමා කෙලෙස් මුල් යලි නොඋපදින්නටම සහමුලින්ම උදුරා කපා දමන්නට නම් මේ පැවැත්මේ ඇති අනිච්ච, දුක්ඛ, අනත්ත, මෙනෙහි කර නිබ්බිදා, විරාගා, නිරෝධා පටිනිස්සග්ගා භාවනා කිරීම මෙම ඤාණයන් හතරටම මුල්වූ ප්‍රඥාවයි.

64-67 සුද්ධික පටිසම්භිද ඤාණයන් හතර

**64. අත්ථ පටිසම්භිදා ඤාණය - අත්‍ථෙසු ඤාණං**

**65. ධම්ම පටිසම්භිදා ඤාණං - ධම්මේසු ඤාණං**

**66. නිරුක්ති පටිසම්භිදා ඤාණං - නිරුක්තීසු ඤාණං**

**67. පටිභාන පටිසම්භිදා ඤාණං - පටිභානේසු ඤාණං**

මෙම සිවුපිළිසිඹියාපත් ඥාණයන් 4ම නව (9) ආකාරයකින් තේරුම් ගෙන, යථාභූත ඤාණ දර්ශණය ලැබ කෙලෙස් ප්‍රහාණය කර කෙලෙස් මුල් කපා සිඳ දමන්නට උපකාර වන ආකාරයෙන් ධර්ම විග්‍රහයක් ඉදිරිපත් කරන්නට, ලෝකයාට ධර්මය විවෘත කර දේසනා කර පෙන්වා දෙන්නට, ලෝකයාට නිවන් මග පල ලබාගන්නට උපකාර වන ආකාරයට මග කියාදී ප්‍රකාශ කර, විග්‍රහකර විභජනය

කර බෙදා දක්වන්නට හැකි ශක්තිය, හැකියාව බලය සිවු පිළිසිඹියාපත් ඤාණයන් ලෙසින් බුද්ධ දේසනාවෙහි පෙන්වයි. හැම මගඵලලාභියෙකුටම මේ බුද්ධ ශක්තීන් හතරම ලබාගන්නට නම් පෙර බුදුවරුන්ගෙන් මේ උතුම් ධර්මය මනාකොට අසාදැන, ප්‍රගුණ කරගෙන පටිච්චසමුප්පාද ධර්මය යථාපරිදි දැක මෙම ඥාණයන් ලබාගැනීමේ අධිශ්ඨානය ඇතිව මග අනුගමනය කළ යුතුමය. බොහෝ අරහතුන් වහන්සේලා සුක්කවිදස්සකය. තවත් අරහතුන් වහන්සේලා අභිඥාලාභීන්ය. ඉතා සුළු පිරිසක් අරහතුන් වහන්සේලා පමණක් සිවුපිළිසිඹියාලාභී මහ අරහතුන් වහන්සේලාය.

සිවු පිළිසිඹියා ලාභය සඳහා අවශ්‍ය වන්නාවු ශක්තීන් 9ක් මෙසේ විග්‍රහ කළ හැකිය.

1. අත්ථ නානත්තය, ධම්ම නානත්තය, නිරුක්ති නාත්ථය හා පටිභාන නානත්ථය පිළිබඳ දැනුම. ලෞකික අර්ථය ලෝකෝත්තර අර්ථය, සම්මත අර්ථය පඤ්ඤාත්ති (පනවාගත්) අර්ථය, පරමාර්ථය හා ධර්ම අර්ථය දැනීම හා විග්‍රහ කිරීම මෙම නානත්වයයි. සම්මතය විද බලා පරමාර්ථය තේරුම් ගෙන විග්‍රහ කරන්නට හැකිවන්නේ මේ නානත්වය දැකීමෙනි.
2. අත්ථ වවත්ථානේ පඤ්ඤා, ධම්ම වවත්ථානේ පඤ්ඤා, නිරුක්ති වවත්ථානේ පඤ්ඤා, පටිභානවවත්ථානේ පඤ්ඤා යන වවත්ථානේ ඤාණයන් හතර දෙවැන්නයි. පටිච්චසුමප්පාද ධර්මයට, සූත්‍රයට, විනයට ගලපා සසඳ බලා විග්‍රහ කිරීමට හා අනුගමනය කළයුතු හා අත්හැරිය යුතු දේ පෙන්වා දීමේ හැකියාව වවත්ථානේ පඤ්ඤායි.

3. අත්ථ සල්ලක්ඛනේ පඤ්ඤා, ධම්ම සල්ලක්ඛනේ පඤ්ඤා, නිරුක්ති සල්ලක්ඛනේ පඤ්ඤා, පටිභාන සල්ලක්ඛනේ පඤ්ඤා තුන්වන ඤාණයයි. සලාහැර ප්‍රහාණය කළයුතු ලක්‍ෂණ වශයෙන් කෙලෙස් දැකීම ඒවා වෙන්කොට තේරුම් ගැනීම ඒවා ප්‍රකාශකර පෙන්වාදීමේ හැකියාව මෙම ඤාණයයි.

4. අත්ථුපලක්ඛනේ පඤ්ඤා, ධමුපලක්ඛනේ පඤ්ඤා, නිරුත්තිඋපලක්ඛනේ පඤ්ඤා, පටිභානුපලක්ඛනේ පඤ්ඤා හතර වැනි ඥාණයයි. උපලක්ඛන වශයෙන් බෙදා බලා පටිච්චසමුප්පාද විග්‍රහයේ එන, සත්තිස් බෝධි පාක්ෂික ධර්මයන්ම ප්‍රායෝගිකවම අවබෝධ කරගන්නට උපකාර වන දැනුම මෙම අර්ථ උපලක්ඛණ ඤාණයයි.

5. අත්ථප්පභේදේ පඤ්ඤා ධම්මප්පභේද පඤ්ඤා නිරුක්තිප්ප-භේදේ පඤ්ඤා, පටිභානප්පභේදේ පඤ්ඤා පස්වැනි ඤාණයයි. මෙය ඒ ඒ ප්‍රභේද වශයෙන් විභජනය කර විභංග කර බෙදා බැලීමේ දැක ගැනීමේ ශක්තිය - “සං” බෙදා බැලීමේ “සං” ප්‍රජනනය වන ආකාරය (සංජානනය) දැකීමේ ශක්තිය, ධර්මය ප්‍රභේද වශයෙන් දැකීමේ ඥාණයන් හතරයි.

6. අත්ථප්‍රභාවනේ පඤ්ඤා, ධම්මප්‍රභාවනේ පඤ්ඤා නිරුක්තිප්ප-භාවනේ පඤ්ඤා පටිභානප්පභාවනේ පඤ්ඤා පටිසම්භිදා ඥාණයෝය. ඉහත සඳහන් කරණ ලද කරුණු අවබෝධයෙන් භාවිතයට ගැනීම මෙන්ම බැහැර කළයුතු කෙලෙස් බැහැර කිරීමද භාවනාපධානේ පඤ්ඤා යන අර්ථයෙන් අර්ථ ගන්වයි. අද භාවනා යනුවෙන් වැරදියට අනුගමනය කරන්නේ ප්‍රාණයාම ක්‍රමයකි. භාවිතයට ගත යුතු දේ හා බැහැර කළයුතුදේ යන දෙපැත්තම දැක ආනපාන සති භාවනාවම භාවනා කිරීම මෙම පටිසම්භිදා ඥාණයෙන් මොනවාට විග්‍රහකර පෙන්වා දෙනු ලබයි.

7. අත්ථ පජ්ජෝතනේ පඤ්ඤා, ධම්ම පජ්ජෝතනේ පඤ්ඤා නිරුක්තිපජ්ජෝතනේ පඤ්ඤා, පටිභානපජ්ජෝතනේ පඤ්ඤා හත්වැනි සිවුපිළිසිඹියාපත් ඥාණයයි. පජ්ජෝතනය යනු එලිදැක්වීම, බබුලුවීම, මතුකර ඇත්ත පෙන්වීම යන අර්ථය ගෙනෙන වචනයකි. තමෝ යනු අඳුරට වැසී මුවහ වීම යන්නයි.

පජ්ජෝතන යන පදයේ විරුද්ධ පදය තමෝ යන්නයි. තමෝ තම පරායනෝ ජෝති ජෝති පරායනෝ යනුවෙන් චතුර්ථක නිපාතයේ මේ දෙපැත්ත විග්‍රහ කර ඇත.

8. අත්ථ විරෝචනේ පඤ්ඤා ධම්ම විරෝචනේ පඤ්ඤා, නිරුක්ති විරෝචනේ පඤ්ඤා, පටිභාන විරෝචනේ පඤ්ඤා යන සතර ඤාණයන් පිළිසිඹියාපත් ඤාණයන්ය. විවටති විරෝචති යනු විවෘත වූ පසු ආවරණ ගලවා දැමූ පසු බැබලෙයි. දිලිසෙයි යන්නයි. මේ අනුවම මෙම සිවුපිළිසිඹියාපත් ඤාණයන් ලබාගත් පසුවම ධර්මය නිවන් දකින ආකාරයට ප්‍රඥා ලෝකය සිතක උපදින ආකාරයට විග්‍රහ කර පෙන්වා දිය හැකි ශක්තිය විරෝචනේ ඤාණයයි. මෙයද එළි දැක්වීමකි.

9. අත්ථප්පකාසනේ පඤ්ඤා, ධම්මප්පකාසනේ පඤ්ඤා නිරුක්තිප්පකාසනේ පඤ්ඤා පටිභානප්පකාසනේ පඤ්ඤා යන හතරම පටිසම්භිදා ඤාණයෝයි. ඉහත සඳහන් කරණ ලද මුල් අට ආකාරයෙන්ම දැනගත්, පිරිසිදු ධර්මය අත්ථ ව්‍යාංජන සහිතව, සරල ලෙසින් ලෝකයාටත් තේරුම් ගෙන අනුගමනය කරමින් විමුක්ති ඤාණ දර්ශණය ලබා ගන්නට උපකාරවන ආකාරයට දේසනා කිරීම, ප්‍රකාශ කිරීම මෙම පටිසම්භිදා ඤාණයයි. බුද්ධ ධර්මය මේ ආකාරයෙන් විවෘත කර, වැසුනු තැන් මතුකර අභාවයට ගිය තැන් භාවිතයට ගන්නට සුදුසු අයුරින් ප්‍රකාශ කර එළිදක්වන්නට හැකි ශක්තිය සිවු පිළිසිඹියාපත් ශක්තියයි. අවසේස ලෝකයාටත් නිවන් අවබෝධ කර ගන්නට උපකාර වන ධර්මය දේශනා කළ හැක්කේ , මාර්ගය පහදා දිය හැක්කේ මෙම සිවුපිළිසිඹියාපත් ඤාණයන් සහිත මගඵල ලාභියෙකුට පමණි.

**68. තථාගතස්ස ඉන්ද්‍රියපරෝපරියත්ත ඤාණං**

**69. තථාගතස්ස ආසයානුසයාඤාණං**

**70. තථාගතස්ස යමකපාටිහීරේ ඤාණං**

**71. තථාගතස්ස මහාකරුණා සම්මාපත්ති ඤාණං**

## 72. තථාගතස්ස සබ්බඤ්ඤුත ඤාණං
## 73. තථාගතස්ස තතථ ආවරණං නත්ථීති අනාවරණ ඤාණං

ලොව්තුරා බුද්ධත්වයට පත් වූ උත්තමයෙකුට පමණක්ම දැනගෙන, දරාගෙන, විග්‍රකර දැක්විය හැකි විශේෂිත වූ ඤාණයන් හයක් අසාධාරණ ඤාණයන් ලෙසින් විග්‍රහ වෙයි. මේවා අසාධාරණ ඤාණයන් ලෙසින් නම් කලේ බුද්ධ ශ්‍රාවකයෙකුට හෝ මහඅරහතුන් කෙනෙකුට හෝ දරාගත නොහැකි හෙයිනි. ලොව්තුරා බුදුපියාණන් වහන්සේට මෙන් දරාගත නොහැකි හෙයිනි. ප්‍රායෝගිකව ක්‍රියාත්මක කළ නොහැකි හෙයිනි. විග්‍රහ කර පෙන්වා දිය නොහැකි හෙයිනි.

ලොව්තුරා බුදුපියාණන් වහන්සේ කෙනෙකුට පරචිත්ත විජානන ඥාණයට වඩා ඉහළ වූ, චේතෝපරිය ඤාණයට වඩා ඉහළ වූ දිබ්බචක්ඛු ඤාණයට වඩා බලවත් වූ බුද්ධ ඤාණයක් වන ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය ලැබෙයි. බාහිර ලෝකයා පිළිබඳව අල්ප වූ රජස්, මාහාරජස් ඇති බව වෙන් කොට දකී. ඉන්ද්‍රියයන්ගේ (ශ්‍රද්ධා ඉන්ද්‍රිය ආදී) තියුණු බව හා නොවැඩුණු බව වෙන් කොට දකී. පුද්ගලයින් තුළ පවතින විවිධාකාර අඳුරු ලෝක ස්වභාවයන් මෙන්ම අලෝක ස්වභාවයද දැක හඳුනාගනී. පුද්ගලයින් තුළ ඇති කෙලෙස් ගති, දුශ්චරිත ගති භව ගාමී කම්ම ගති දැකගනී. පෙර කළ පුන්‍ය ශක්තීන්ද දැකගනී.

පුද්ගලයින් තුළ ආසය, අනුසය උපත ලබන හා තැන්පත් වන එමෙන්ම ක්‍රියාත්මක වන විවිධාකාරයන්ද දනී. ලෝකයාට ඒවා පැහැදිලි කරදීමටද හැකියාව ඇති වෙයි. පුද්ගලයින් තුළ කාමාසව, භාවාසව දිට්ඨාසව මෙන්ම අවිජ්ජා සව ක්‍රියාත්මක වන ආකාරයත්, රාග අනුසය, පටිඝ අනුසය අවිජ්ජා අනුසය උපත ලබන ආකාරයත්, දිට්ඨි අනුසය, විචිකිච්චා අනුසය උපත ලබන ආකාරයන් මාන අනුසය සකස් වන ආකාරයන් දකී. ඒවා විග්‍රහ කර විස්තර කර දෙන්නටද තේරුම් කර කියා දෙන්නටද දනී.

එකම අවස්ථාවේ ප්‍රතිවිරුද්ධ කරුණු කාරණා දෙකක් කිරීමේ ශක්තියක්ද පවතී. එය යමක පාටිහීර ඥාණයයි.

මහාකරුණා සමාපත්ති ඥාණය ලෝකයා දෙස බලා උපකාර කිරීමේ ශක්තියක්ද ලැබෙන සම්මාපත්ති ඥාණයකි. "සං" විග්‍රහයක් කර "සං" පද හතර විග්‍රහ කර ලෝකයාට සංසාර භය විග්‍රහ කර සංදේශනාවක් කිරීමේ ශක්තිය ලැබෙන්නේද මෙම බුද්ධ ඥාණයන් ලැබීමත් සමගමය.

සියලු ආකාර වූ මෙම බුද්ධ ඥාණයන් ලැබෙන්නේ මිනිසෙකුටය. බුද්ධත්වයට පත්වන්නේද මිනිසෙකුමය. බුද්ධත්වය යනු කෙලෙස් භව උදුරා දැමීම නිසා පත්වූ ශුද්ධ තත්වයයි. ඒ නිසා ලොව්තුරා, බුද්ධත්වයට පත් වූ උතුමෙකු ලෝකයාට මෙවන් බුද්ධ ඥාණයන් ප්‍රකාශ කර පෙන්වා වදාලේ අවශේෂ ලෝකයාට (දෙවි මිනිසුන්ටත්) කෙලෙස් භව සහමුලින්ම උදුරා දමා භව ගාමී කම්ම ක්ඛය කර දමා සසර දුකින් සදහටම මිදී නිදහස් වන්නටය.

මෙවන් බුද්ධ ඥාණයන් කටපාඩම් කරගෙන සජ්ජායනා කිරීමෙන් පමණක්ම කිසිම කෙනෙකුට කෙලෙස් භව උදුරා ඉවත් කර දමා නිබ්බාන ගාමී විය නොහැකි බව සියලු මිනිසුන් විසින් යථා පරිදි අවබෝධ කර ගත යුතුය.

සියලු බුද්ධ ඥාණයන් ලබා ගන්නට නම් පරියාප්ති, ප්‍රතිවේධ, ප්‍රතිපත්ති යන ත්‍රිවිධාකාර ක්‍රියාමාර්ගයන් ප්‍රායෝගිකවම අසා දැන, මෙනෙහි කර, ධාරණය කරගෙන ප්‍රායෝගිකවම අනුගමනය කර තම තමන්ම අත් දැක ගත යුතුය. වසර සියයක් ආත්ම සියයක් කියව කියවා, සජ්ජායනා කරමින්, වැඳුම් වැඳිමින්, යැඳුම් යදිමින්, පැතුම් පතමින්, පිදුම් පුදමින්, පූජා පවත්වමින් සිටියත් එකද බුද්ධ ඥාණයක් හෝ ලැබෙන්නේ නැත. භව ගාමී කම්මයන් උපත ලබන්නේ සිතකමය. භව ගාමී කම්ම කෙලෙස් භව උදුරා දමන්නට උපකාරවන සියලුම ක්‍රියා මාර්ග බුද්ධ ඥාණයෝය. යෝනිසෝ-මනසිකාරයෙන් ක්‍රියා කර මනස උසස් පිරිසිදු තත්වයට පත්කරගත් මිනිසෙකුගේම

සිතක සියලු බුද්ධ ඥාණයෝ ක්‍රියාත්මක වෙයි.